සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ මැදින් මස (ව්‍යවහාරික වර්ෂ 2019 මාර්තු)

91 වෙනි කලාපය



## කර්ම විපාකවල භයානකත්වය

### කියාපාන තවත් කතා පුවතක්...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

අසරණ අහිංසක රට වැසි වැඩි පිරිස
අපමණ ගැහැට විඳ එනමුදු නොව අලස
වෙහෙසෙන හැටි දිවිය ගැට ගහගනු පිණිස
පසසන එක වටී දැඩි බවකිය මනස

පර හට දුකක් කඳුලක් කිසි විට නොමදී
හැම විට සමාදානය සමගිය රැකදී
දහමට පිනට යහ වැඩටම අත හිතදී
විසුමට කැමති සත හට මරු වුව පරදී

මුදලට වාසියට බලයට කැස කවන
අතමිට සරු වුවොත් ඇත එපරිදි සිතන
අනුනට කුමක් වුව තම බඩ කට පිරෙන
කරුමෙට බිහි වෙලා ඇති පිරිසකි දුදන



# බොදුකම රකිමු



දුසිරිත පිටු දකිනු මිනිසුනි කිමද බැරී
පරහිත සෙත සදනු බුදු බණ දෙසට හැරී
අතහිත නොම පුදනු වරදට නොදෙනු දිරී
යහපත යළි සදනු රට දෙස බලනු හැරී

පිරිසිදු බුදු දහම පවතින බවකි රටේ
පරසිඳු වෙලා ඇත එය ලොව සතර වටේ
එනමුදු දුසිරිතට රට තුල නිබඳ ගැටේ
ඇදුරිඳු යතිඳු වියතුනි රට දුකෙහි වැටේ

යුතුකම් මෙලෙස පිරිහෙන කල බොදුවන්ගේ
සරදම් ලෙස තකති බොදුකම හෙළයන්ගේ
සදහම් අනුව වදහළ අප මුනිඳුන්ගේ
ගුණ දම් වඩමු හද තුල හෙළ දරුවන්ගේ

පබැඳුම -
කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# සතුටු සිත් ඇතිව නුවණ මෙහෙයවා කරන පිනක ඇති බලය...

ඒක්තරා සිටු කුලයක උපන් සිටු කුමරියක්, ලොව්තුරා බුදුන් වහන්සේ ඉදිරියේ මෙහෙම ප්‍රශ්නයක් ඇහුවා. වහන්ස, මේ සස්නෙහි භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෝ දෙදෙනෙක් ශ්‍රද්ධායෙන් සමයහ (සමානය). සීලයෙන් සමයහ. ප්‍රඥායෙන් සමයහ. එකෙක් දායකය (දන් දෙන්නා). එකෙක් අදායකය (දන් නොදෙන්නා). ඔවුහු කාබුන් මරණින් මතු මනා ගති ඇති ස්වර්ග ලෝකයට පැමිණෙති. වහන්ස, දෙව් වූ (දායක, අදායක) ඔවුන්ගේ විශේෂයක් වන්නේද වෙනස් කරුණෙක් ඇතිද? ඇත, සුමනාවෙනියි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක. (අංගුත්තර නිකාය - පඤ්චක නිපාතය - සුමනා වර්ගය - <u>සුමනා සූත්‍රය</u>)

ඉතින් මේ සිටු කුමරිය ඇහුවෙ මොකක්ද? ඔබ වහන්සේගේ ශ්‍රාවකයෝ දෙන්නෙක් ඉන්නවා. එක් කෙනෙක් දන් දෙනවා, අනෙක් කෙනා දන් දෙන්නෙ නෑ. හැබැයි ඒ දෙන්නගෙම ශ්‍රද්ධාවේ හෝ සීලයේ හෝ ප්‍රඥාවේ හෝ කිසි වෙනසක් නෑ. මේ දෙන්නම මැරිල ගිහින් දෙව් ලොව ඉපදෙනවා. ඉතින් මේ දෙන්නගෙ දේව සම්පත්තියේ වෙනසක් තියෙනවද කියලයි ඇහුවෙ. ඒකට ලොව්තුරා බුදු පියාණන් වහන්සේ කෙලින්ම ඔව් කියලයි උත්තර දුන්නෙ. ඊට පස්සෙ උන්වහන්සේ ඒ කාරණය පහදල දෙනවා.

සුමනාවෙනි, යම් දායකයෙක් වේ නම්, හේ දෙව් වූයේම අනෙකා අදායකයා දිව්‍ය ආයුසයෙන්, දිව්‍ය වර්ණයෙන්, දිව්‍ය සුඛයෙන්, දිව්‍ය යසසින්, දිව්‍ය ආධිපත්‍යයෙන් යන කරුණු පසෙකින් අභිබවන්නේය (යටපත් කරන්නේය). සුමනාවෙනි, යම් දායකයෙක් වේ නම්, හේ දෙව් වූයේම තෙල දන් නොදෙනහු මෙ කරුණු පසින් අභිභවන්නේය.

කෙනෙක් දන් දෙනව නම්, ඒ දන් දුන්න කෙනා මියගිහින් දේව තලයක උපන්නොත්, ඔහු හෝ ඇය දිව්‍ය ආයුසයෙන්, වර්ණයෙන්, සැප සම්පත්වලින්, යසසින්, බලයෙන් යන කරුණු පහකින් අනෙක් දන් නොදුන් කෙනා අභිබවා යනව කියලයි ලොව්තුරා බුදුන් වහන්සේ පහදල දුන්නෙ.

ඉතින් මෙතැන පැහැදිලි වන කාරණයක් තියෙනවා. මේ දෙන්නා ශ්‍රද්ධාවෙනුත් සමානයි, සීලයෙනුත් සමානයි, ප්‍රඥාවෙනුත් සමානයි, දුන්න දානය අනුවයි ලැබීම තීරණය වුනේ. එතකොට කෙනෙකුට මෙහෙම ප්‍රශ්නයක් එන්න පුළුවන්. එහෙනම් එදා අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය තමන්ගෙ පුද්ගලික වියදමෙන් හදල පූජා කරපු වෙලාවෙ එතුමාට පහල වුනේ රිදී විමානයක්, නමුත් එතැන ඉඳල සතයක්වත් වියදම් නොකරපු දුප්පත් මනුස්සයෙක් ඒ පින අනුමෝදන් වීමෙන් විතරක් රත්තරන්වලින් දිව්‍ය විමානයක් පහල වුනා. දැන් එතකොට දුන්න කෙනාට වඩා අනුමෝදන් වුන කෙනාට කොහොමද වැඩිපුර ලැබුනෙ?

මේක කෙනෙකුට එන්න පුළුවන් සාධාරණ ප්‍රශ්නයක්. එහෙම වුනේ කොහොමද? අර කලින් ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කරපු දේට පරස්පර වෙන්නත් බෑ. දැන් නැවතත් සුමනා සිටු දුව අහපු ප්‍රශ්නය බලන්න. එක විදිහෙ දෙන්නෙක් ගැන අහන්නෙ. ඒ දෙන්නා ප්‍රඥාවෙනුත්, සීලයෙනුත්, ශ්‍රද්ධාවෙනුත් සමානයි. නමුත් කෙනෙක් දන් දෙනවා, අනෙක් කෙනා දෙන්නෙ නෑ. අර කාරණා තුන සමාන නිසා ඒ අයට ලැබීම වෙනස් වුනේ දුන්න දේ අනුව. එතකොට අනේපිඬු සිටුතුමාට අඩුවෙන් ලැබිල අර අනුමෝදන් වුන කෙනාට කොහොමද වැඩියෙන් ලැබුනෙ?

එහෙනම් අනුමෝදනාව තේරුම් ගන්න ඕන. අනුමෝදනාවේ සරල සිංහල අරුත තමයි, කෙනෙක් ඒ අනුව සතුටු වෙනවා කියන එක. මොකක් අනුවද සතුටු වෙන්නෙ? කෙනෙකුට ඕන නම් නරක දේකටත් සතුටු වෙන්න පුළුවන්. ඒ සතුට ගැන නෙවෙයි මේ කියන්නෙ. මෙතැනදි කෙනෙක් පිනක් කරන්න ගියාම පහල වෙන සිත් ජාති අටක් ගැන ධර්මයේ සඳහන් වෙනවා.

- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත.
- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත.
- සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත සිත.
- සෝමනස්ස සහගත ඥාන විප්‍රයුක්ත සසංකාරික සිත.
- උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත.
- උපේක්ෂා සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත.
- උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සිත.
- උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සසංකාරික සිත.
- මේ සිත් ජාති අටට කාමාවචර

කුසල් සිත් කියලත් කියනවා. බොහෝ විට මේ කුසල් සිත් පහල වෙන්නෙ දස පුණ්‍ය ක්‍රියා කරනකොට. කොටින්ම කියනව නම්, අපි දන් දෙන අවස්ථාවක් ගැන හිතමු. ඒ අවස්ථාවෙදි ඊට ප්‍රථම හෝ ඕනෑම වෙලාවක මේ කුසල් සිත් අටෙන් එකක් පහල වෙන්න පුළුවන්. ඒ අනුවයි ඒ කරන පුණ්‍ය ක්‍රියාවේ බලය මතු වෙන්නෙ. ඉහත අනුමෝදනාව විස්තර කරන කොට ආපු අදහස තමයි, අනුව සතුටු වෙනවා කියන එක. ඒ සතුටු වෙන ක්‍රම අට තමයි ඔය සිත් අට විදිහට විග්‍රහ කරල තියෙන්නෙ.

උදාහරණයක් විදිහට මලක් පූජ කරන අවස්ථාවක් ගැන හිතමු. ඒ මල පූජ කරන විදිහ ගැන නෙවෙයි මේ කියන්නෙ. කෙනෙක් එක මලක් පූජ කරන්න පුළුවන්. තව කෙනෙක් මල් ලක්ෂයක් පූජ කරන්න පුළුවන්. තවත් කෙනෙක් මල් මාලා විදිහට පූජ කරන්න පුළුවන්. මේ කිසිවක් ගැන නෙවෙයි මේ කියන්නෙ. මෙතැනදි අදහස් කරන්නෙ, මේ මල හෝ මල් ලක්ෂය හෝ මල් මාලා හෝ පූජ කරන කෙනාගෙ, ඒ පූජාවට පෙර, පූජාව කරන වෙලාවෙදි සහ ඉන්පසු ඇතිවෙන සිතිවිලි. ඒ අනුවයි ඒ කරන පිනේ හෝ කුසලයේ හෝ බලය නැගෙන්නෙ.

උදාහරණයක් විදිහට මෙහෙම හිතන්න. රෝදයක් තියෙනවා. ඒ රෝදය යම් ලක්ෂයකට තියල කැරකෙන්න පුළුවන් විදිහට සවි කරල තියෙනවා. දැන් ඒ රෝදයට යම් කිසි බලයක් දුන්නම වට ගණනක් කැරකිලා නවතිනවා. දැන් විවිධ වයස්වල ළමයි අට දෙනෙක් ගේනවා. පොඩිම ළමයගෙ පටන් අටවෙනි වැඩිමහල් ළමය දක්වා මේ ළමයින්ගෙ කාය ශක්තිය වෙනස්. අපි හිතමු කුඩාම ළමයා අවුරුදු 5 යි, ලොකුම ළමයා අවුරුදු 12 යි කියල. දැන් වයසින් බාලම ළමයගෙ සහ වයසින් වැඩිම ළමයගෙ ශක්තිය මැනල බැලුවම වයසින් වැඩිමහල් ළමයට වඩා කුඩාම ළමයගෙ ශක්තිය අඩුයි. දැන් මේ එක එක ළමයට කියනවා, අර රෝදය තමන්ගෙ උපරිම ශක්තිය යොදල කරකවන්න කියල. එක ළමයෙකුට දෙන්නෙ එක වාරයයි. මෙහෙම බැලුවොත් වැඩිපුරම වට ගණනක් කැරකෙන්නෙ මොන ළමය දුන්න ශක්තියෙන්ද? කුඩාම ළමයගෙ ශක්තිය අඩුයි. ඒ අනුව කැරකෙන වට ගණනත් අඩුයි. අනෙක් පැත්තෙන් වයසින් වැඩිම ළමයගෙ ශක්තිය වැඩියි. ඒ අනුව කැරකෙන වට ගණනත් වැඩියි.

එතකොට අර ඉහත සිත් අටත් ඒ වගේ. ඒ ඒ සිත් අනුව බලගැන්වෙන ශක්තිය වෙනස්. ඔය එක එක හිතෙන් පටන් ගන්න සංඛාරයට අනුව විඤ්ඤාණ පච්චයා නාමරූපං කියන තැන නිදහස් වෙන ශක්තියත් විවිධාකාරයි. ඒ නිකුත් වෙන ශක්තිය තමයි අනන්තරයේ ගිහින් තැන්පත් වෙලා සුදුසු කාලය / පරිසරය, එහෙම නැත්නම් සමනන්තරය හැදුනම විපාක දෙන්නෙ.

දැන් ඉහත කිව්ව කුසල් සිත් මූලික කොටස් දෙකකට බෙදෙනවා, සෝමනස්ස සහගත, උපේක්ෂා සහගත කියල. සෝමනස්ස කියල කිව්වෙ, සතුටු සිතින්, එහෙම නැත්නම් පහන් සිතින් කියන අර්ථය. **පිනක් දහමක් කරන්න යනකොට, ආ... බොහොම හොඳ වැඩක්... කියල හිතේ ඇති වෙන පිබිදීම, සතුට තමයි මෙතැනදි සෝමනස්ස සහගත කියල අදහස් කළේ. එහෙම නැතුව කෙනෙකුට අවැඩක් කරල සතුටු වෙන්නත් පුළුවන්, ආ... ඕකට ඔහොම වෙලා මදි කියල. ඒ සතුටු වෙන ක්‍රමය නෙවෙයි මෙතැනදි අදහස් කළේ.** ඒක විශේෂයෙන් තේරුම් ගන්න ඕන.

ඊට පස්සෙ තියෙනවා උපේක්ෂා සහගත කියල. මේකෙන් මොකක්ද අදහස් කළේ? සමහරුන්ගෙ ගතියක් තියෙනවා, පිනක් දහමක් කරමු කිව්වට ලොකු පිබිදීමක් නෑ. නමුත් විරුද්ධ වෙන්නෙත් නෑ. හොයල බලල දෙනවට වැඩිය ගෙදරට ඉල්ලගෙන ආවම බැහැ කියන්නෙත් නැතුව දෙනවා. මේ ජාතියේ පහල වෙන සිත් තමයි උපේක්ෂා සහගත සිත් කියල කිව්වෙ. ඒවා අර කලින් කිව්ව සෝමනස්ස සහගත සිත්වලට වඩා බල අඩුයි. අර කලින් කියපු ළමයි අට දෙනාගෙන් අවුරුදු 5, 6, 7, 8 වයසෙ ළමයි එක ගොඩකටයි, 9, 10, 11, 12 වයසෙ ළමයි එක ගොඩකටයි දැම්ම වගේ. අඩු වයසෙ ගොඩ උපේක්ෂා සහගත සිත්වලට සමානයි. වැඩි වයසෙ ගොඩ සෝමනස්ස සහගත සිත්වලට සමානයි.

ඒ ගොඩවල් දෙකට දැම්මත්, ඊට පස්සෙ තවත් වෙන් කරල තියෙනවා. සෝමනස්ස සහගත කොටස ගත්තොත්, එක කොටසක් තියෙනවා ඥාන සම්ප්‍රයුක්ත කියල. අනෙක් කොටස තියෙනවා ඥාන විප්‍රයුක්ත කියල. මොකක්ද මේ කාරණා දෙකේ වෙනස? හොඳින් බලන කෙනෙකුට වැටහෙනවා, වඩාත්ම බලවත් සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත කියල, ඊට පස්සෙ අඩුවෙන්ම බලවත් උපේක්ෂා සහගත ඥාන විප්‍රයුක්ත සිත කියල. එතකොට ඥාන සම්ප්‍රයුක්ත කියල කිව්වෙ මොකක්ද? සරල සිංහලෙන් කියනව නම්, නුවණ සමගින් යෙදෙන කියන එකයි. එතකොට වඩාත්ම බලවත් වෙන්නෙ නුවණ සමගින් යෙදුන සතුටු සිතක්. මොන ජාතියේ නුවණක් ගැනද මේ කියන්නෙ?

දැන් අපි බලමු අර අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය පූජා කරපු අවස්ථාව. එතුමාට රිදී විමානයක් පහල වෙන්නත්, අර දුප්පත් මනුස්සයට රත්තරන් විමානයක් පහල වෙන්නත් හේතු මොනව වෙන්න ඇත්ද? අපිට දළ අදහසක් ගන්න පුළුවන්. කොච්චර මහන්සි වෙලා වියදම් කරල පූජා කළත්, ඒ පූජා කරන මොහොතේ හට ගත්ත බලය තමයි වැඩි වෙන්නෙ. මතක තියාගන්න ඕන වැදගත් කාරණයක් තියෙනවා, අනේපිඬු සිටුතුමාගේ සම්පූර්ණ ලැබීම ගැන නෙවෙයි මේ කතා කරන්නෙ. අර එක අවස්ථාවක එතුමාට ලැබුන ලැබීමයි, දුප්පත් මනුස්සයට ලැබුන ලැබීමයි ගැන විතරයි මෙතැනදි අදහස් කරන්නෙ. දැන් අනිවාර්යෙන් රත්තරන් විමානය පහල වෙන්න ගොඩනගපු ශක්තියෙයි, රිදී විමානය පහල වෙන්න ගොඩනගපු ශක්තියෙයි විසාල වෙනසක් තියෙන්න ඕන. එක් කෙනෙකුට දුන්න නිසා ලැබුනා. අනෙක් කෙනා අනුමෝදන් වීම නිසා ලැබුනා. දෙන්නටම විමාන දෙකක් පහල වුනා. ඒත් වෙනස ඇති වෙන්න ඒ වෙලාවෙ ඇතිවෙච්ච සිතත් බලපෑවා. ඔය කුසල් සිත් අටෙන් උපරිම සිත ඒ මොහොතේ දුප්පත් කෙනාට පහල වෙන්න ඇති. ඒ අනුව ගත්තම නුවණ සමග යෙදුන සතුටු සිත් පෙළක් පහල වෙන්න ඇති. ඊට අඩුවෙන් තියෙන ඊළඟ සිත් පෙළක් අනේපිඬු සිටුතුමාට පහල වෙන්න ඇති. ඒ වගේම දාන වස්තුව උපයා ගත් ආකාරය... ආදී තවත් කරුණු ගණනාවක් බලපාන්න ඇති. ඒ අනුව ලැබීම වුනත් දෙවිදිහකට ලැබුනෙ ඒකයි.

එතකොට මෙතැනදි අදහස් කරපු නුවණ, එහෙම නැත්නම් ඥානය මොකක්ද? ඒ අනුවයි අපි ගොඩනගන කුසල් ශක්තියක වෙනස ඇතිවෙන්නෙ. කෙනෙකුට ලොව්තුරා බුදුන් වහන්සේ ගැන විස්තර කරන්න කිව්වොත් කොහොම විස්තරයක් කරයිද? නිකං හිතමු, නිතර දෙවේලෙ පන්සල් යන ලෝක සම්මතයේ ජීවත් වෙන සාමාන්‍ය කෙනෙක් කොහොම විග්‍රහ කරයිද? උන්වහන්සේ තමයි මගේ සාස්තෘන්

වහන්සේ, රහසින්වත් පව් නොකරන උන්වහන්සේ ගැන මට ලොකු පැහැදීමක් තියෙනවා, දස අකුසලයෙන් වැළකිලා ඉන්න නිවන් දැකපු මහා උත්තමයෙක්. ඔහුට තේරෙන විදිහට එහෙම කියයි. ඒ තමයි ඒ පුද්ගලයගෙ නුවණ. මලක් පූජා කළත් මේ නුවණ සමගයි පූජා කරන්නෙ. ඇයි පූජා කළේ කියල ඇහුවොත්, බුදු ගුණ තමන්ට තේරෙන ප්‍රමාණයෙන් කියයි. සංඝයා වහන්සේගේ ගුණ ඇහුවත් ඒ වගේ. ඒ තමන් ලබපු අත්දැකීම දන්න ප්‍රමාණය අනුව කියනවා. එතකොට ඒ පුද්ගලයා දැන හෝ නොදැන සතුටු සිතින් නුවණ මෙහෙයවලයි මලක් හරි පූජා කරන්නෙ. ඒකෙන් නැගෙන බලය වැඩියි. ලැබෙන විපාකයත් ඒ වගේ. හැබැයි ඒ සිතත් උත්කෘෂ්ට, මධ්‍යම, ඕමක වෙන්න පුළුවන්.

දැන් හිතන්න, සෝවාන් මාර්ගඵල ලාභියෙක් ඉන්නවා. ඔහුගෙන් අහනවා, කවුද බුදුන් වහන්සේ කියන්නෙ කියල. දැන් ඔහු ලොව්තුරා බුදුන් වහන්සේ ගැන කොහොම විග්‍රහයක් කරයිද? ලුණු කැටේ රස දන්න කෙනාගෙන් අහනවා, මහ මුහුද කොච්චර ලුණු රස ඇත්ද කියල. ඔහු අනුමානයෙන් මහා සාගරයේ ලුණු රස ගැන කියනවා වගේ, මෙතැනදි මගඵල ලාභියා බුදු ගුණ කියන්න පටන් ගන්නවා. අර කලින් කෙනා රහසින්වත් පව් කරන්නෙ නෑ කියල විස්වාසයෙන් කිව්වට, චතුරාර්ය සත්‍යය අවබෝධ කර ගත්ත සෝවාන් ඵල ලාභියා ඒක කියන්නෙ අත්දැකීමෙන්. මාරයා ඇවිත් කිව්වත්, අන්න උන්වහන්සේ නිරයේ පැහෙනවා කියල කීයටවත් පිළිගන්නෙ නෑ, ඒ ගැන සැකයක් නෑ. **සෝවාන් ඵල ලාභියෙකුගේ සහ පෘතජ්ජනයෙකුගේ නුවණ සමාන කරන්නෙ මහා මේරු පර්වතයයි වැලි කැටයයි වගෙයි කියල.** ඉතින් එහෙම කෙනෙක් මලක් පූජා කළත් නැගෙන ශක්තිය හිතාගන්න බැරි තරමට විසාලයි. ඒ හේතුවෙන් තමයි කිව්වෙ, පුණ්‍ය ගංගා කුසල ගංගා ගලනව කියල. පොද වැස්සකට ගඟක් උතුරල ගලන්නෙ නෑ. ඒකට මහා වැස්සක් වහින්න ඕන. ඒ වගේ මහා පුණ්‍ය වැස්සක් නගන්න පුළුවන් උත්තමයෙක් ඒ වගේ පුණ්‍ය වැස්සක් නගල, බලාගෙන ඉන්න කෙනෙක් ඒක දැකල සතුටු වෙලා සාදුකාර දුන්නත් ඇති.

එහෙනම් "නුවණ සමග" කියන එකේ තේරුම පැහැදිලියි. සතුටු සිතින්, පහන් සිතින්, නුවණ සමග යෙදුන සිතකින් කරන මහා පිනක් තමයි බලවත්ම. උත්තමයෙකුගේ ගුණ දකින්න ඒ නුවණ ඕන. තමන් ගුණයක පිහිටියාමයි තවත් කෙනෙක්ගෙ එහෙම ගුණයක් දකින්න පුළුවන් වෙන්නෙ. අන්න ඒ ගුණය දකින්නයි නුවණ ඕන. ඒ නුවණ නිකං ලැබෙන්නෙ නෑ. ඒ නුවණ කරා යන්න පිළිවෙතෙන් පෙළ ගැහෙන්න ඕන. මුලින් තමන්ට තේරෙන මට්ටමෙන් පටන් අරගෙන ටික ටික පෝළිමට යන ගමනක්. මේ ගමනේ ඉදිරියට යන්න යන්න නුවණ මෝරනවා. එතකොට තමන්ම මල් පූජා කරන්න ඕන නෑ. වෙන කෙනෙක් පූජා කළත් ඇති තමන්ට සතුටු වෙලා අනුමෝදන් වෙන්න. ඒ අනුමෝදනාවෙන්ම මහා බලයක් ගොඩ නගන්න පුළුවන්. මේකෙම අනෙක් පැත්ත තමයි, ඥාන විප්‍රයුක්ත කියල කිව්වෙ. මේ කාටද පූජා කරන්නෙ කියල... එහෙම ගුණයක් දකින්න හැකියාවක් නෑ. ඒත් සතුටු සිතින් තමයි වැඩේ කරන්නෙ. හැබැයි ඒවායේ බල අඩුයි. මොනවද කරන්නෙ කියලත් කිසි ගානක් නෑ. නිකං කරනවා. ඔහේ මලක් අරගෙන ගිහින් තියල එනවා. පහනක් පත්තු කළත් පත්තු කරන්නන් වාලෙ කරනවා. කරපු පිනේ මහා බලයක් නෑ. නමුත් උත්තමයන් උදෙසා කළ නිසා කවදා හරි යහපත් විපාකයක් එනවා.

ඒත් එක්කම මේ සිත් තවත් කොටස් දෙකකට වෙන් වෙනවා.

- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත.
- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත.

ඇත්තටම මේ කොටස් දෙක පසුකාලීනව ආචාර්යවාදීන් ලියපු අටුවාවල නම් විග්‍රහ කරල තියෙන්නෙ මේ විදිහට.

- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත අසංකාරික සිත.
- සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සසංකාරික සිත.

නමුත් පෙළ දහමේ මෙහෙම අසංකාරික සිත කියල එකක් විග්‍රහ වෙන්නෙ නෑ. අටුවාචාරීන් මේ සිත් වෙන් කරන්නෙ, අසංකාරික සිත කිව්වම කාගෙවත් මෙහෙය වීමක් නැතිව තමන්ම කියන අර්ථයෙන් සහ සසංකාරික කිව්වම අනුන්ගෙ මෙහෙය වීමක් ඇතිව කියන අර්ථයෙන්. නමුත් පෙළ දහමේ මෙහෙම අසංකාරික කියල වෙන් කරල නෑ. එතකොට මොකක්ද මේ වෙනස?

කෙනෙක් සතුටු සිතින් දානයක් දෙනවා. හැබැයි දෙන්නෙ තමන් වෙනුවෙන් නෙවෙයි. කාගෙවත් මෙහෙය වීමක් නිසාත් නෙවෙයි. ගුණයක් දැකල ගුණයක පිහිටල දෙන දානයක්. කාටද දෙන්නෙ කියල ඒකත් නුවණින් දන්නවා. සංඝයාගේ ගුණ දැකලයි දන් දෙන්නෙ. උන්වහන්සේලාගේ හිමිකම දැකල, මහා ගෞරවයෙන් ගුණයක් දැකල තමයි දානය දෙන්නෙ. ඒ නිසයි ඒ සිත ඉතාම බලවත් වෙන්නෙ. තමන් බලාපොරොත්තු වුනා හෝ නැතා, ලැබීම උපරිමයි. අර අනේපිඬු සිටුතුමා ජේතවනාරාමය පූජා කරපු වෙලාවෙ වගේ, කොච්චර උතුම් කටයුත්තක්ද, ලොව්තුරා බුදුන් වහන්සේ සහ උන්වහන්සේ ප්‍රමුඛ මහා සංඝයාටනේ ඒ පූජාව කරන්නෙ, මේක ලබන්න ඊට වඩා උතුමන් ඉන්නවද! මොන තරම් උත්තම පූජාවක්ද! මෝහාන්ධකාරයෙන් වෙලිල හිටපු ලෝකයා ඒ අන්ධකාරයෙන් මුදවපු මහා උත්තමයන්ටනේ මේ ආරාමය පූජා කරන්නෙ... කියල සාදුකාර දුන්න නම්, ඒක අයිති වෙන්නෙ මේ කියන සෝමනස්ස සහගත ඥාන සම්ප්‍රයුක්ත සිත් කොටසට. මේ කියවන මොහොතෙත් ඒ විදිහට දැකල සාදුකාර දිදී අනුමෝදන් වුනත් මහා පුණ්‍ය ගංගා කුසල ගංගා ගලන පිනක් වෙනවා. ඕනෑම මොහොතක මතක් කර කර අනුමෝදන් වෙන්න පුළුවන්. ඒ තරම්ම මේ බුද්ධ සාසනය ආශ්චර්යයි, අත්භූතයි.

එතකොට ඒකෙම අනෙක් පැත්ත තමයි සසංකාරික සිත. ඒ කිව්වෙ, ගුණයක් දකිනවා, සතුටු සිතකුත් තියෙනවා. ඒ වගේම මේක කරන්නෙ මා වෙනුවෙන්, මගේ යම් බලාපොරොත්තුවක් වෙනුවෙන් කියන සිතිවිල්ල තියෙනවා. එතැන සුළුවෙන් හෝ මමත්වයක් ගොඩ නැගෙන නිසයි ඒක දෙවනියට බලවත් වෙන්නෙ.

ඉතින් අපි මේ මොහොතේ ඉඳන් පිනක් කරගනිත්දි, කරන්නන් වාලෙ කරන්නෙ නැතුව ගුණයක් දැකල ගුණයක පිහිටල, නුවණින් හිතල සතුටු සිතින් කරන්න ඕන. එතකොට තමයි ඒකෙන් උපරිම ශක්තියක් නැගෙන්නෙ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරින් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**076-3446839**



# වරද්දන බුදු බණ

06 කොටස

මෑත යුගයේ එක්තරා රූපවාහිනී නාලිකාවක් විසින් ආරම්භ කරල තියෙන වැඩසටහනකින්, දුර්මත නිවාරණය කරනවා කියමින් ත්‍රිපිටක බුද්ධ වචනවලට පවා පටහැනි කරුණු ඉදිරිපත් කරන බව පෙනී යනවා. ඒ වැඩසටහනෙන් ඉදිරිපත් කළ එක දුර්මතයක් පිළිබඳ ධර්මානුකූල විවරණයක් තමයි මේ ලිපියෙන් ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙන්නෙ.

ඒ වැඩසටහනේ එක්තරා අවස්ථාවකදි කියනවා, දිට්ඨි සම්පන්න හෙවත් සෝතාපන්න පුද්ගලයා මොන විදිහටවත් පංච දුශ්චරිතයට අයිති ප්‍රාණඝාතාදී අකුසලයක් කරන්නෙ නෑ කියල. ඒ මතය සනාථ කරන්න කථාවත්ථුප්‍රකරණයේ යම් විස්තරයක් ඉදිරිපත් කරනවා. ජීවිතාවෝරෝපන කතාවේ දිට්ඨි සම්පන්න හෙවත් සෝතාපන්න පුද්ගලයා දැන දැන සතෙකු ජීවිතයෙන් තොර කරන්නේය යනු නොකිය යුතු බව සඳහන් වෙනවා. (තේන හි න වත්තබ්බං දිට්ඨි සම්පන්නෝ පුග්ගලෝ සඤ්චිච්ච පාණං ජීවිතා වෝරෝපෙයයාති - කථාවත්ථුප්‍රකරණය 82 පිටුව)

කථාවත්ථුප්‍රකරණය කියන්නෙ තථාගතයන් වහන්සේ පිරිනිවන් පාල අවුරුදු 200 ක් විතර ගියාට පස්සෙ, සිවුපිළිසිඹියාපත් මහ තෙරුන් වහන්සේලා 1000 කගේ සහභාගීත්වයෙන් පැවති සංගායනාවකින් පරවාද ඛන්ඩනය කරමින් ඉදිරිපත් කරපු කරුණු ඇතුලත් කරල සකස් කළ ග්‍රන්ථයක්. ඒ වගේම ඒ ග්‍රන්ථයේ, බුද්ධ දේශනාවේ මාතෘකා පාළිය අන්තර්ගතයි කියලත් සඳහන් වෙනවා. ඒ කියන්නෙ, යම් යම් ධර්ම කාරණා සාරාංශගත කරල සකස් කළ ග්‍රන්ථයක්. ඒ කාලයේ තිබ්බ්ච වැරදි මත රාශියක් මේ සංගායනාවෙන් හේතු සහිතව බිඳ දමා තිබුනත්, ඒ ග්‍රන්ථයේ සඳහන් කරුණුවලට අර්ථ දෙනකොට ත්‍රිපිටක සූත්‍ර දේශනා සමග ගලපල බලල, තථාගතයන් වහන්සේ ශ්‍රී මුඛයෙන්ම දේශනා කළ කරුණු සමග සසඳල බලල තීරණයකට ඒමයි වඩාත් ප්‍රඥා ගෝචර වෙන්නෙ.

අ. නි. 1 - අට්ඨාන පාළියේ 54 වන පිටුවේ පටන් සෝතාපන්න පුද්ගලයා අතින් කොහෙත්ම සිදු නොවන කාරණා 9 ක් ගැන විස්තර වෙනවා. “අට්ඨාන මේතං භික්ඛවේ අනවකාසෝ දිට්ඨි සම්පන්න පුග්ගලෝ... මාතරං ජීවිතා වෝරෝපෙයය... පිතරං ජීවිතා වෝරෝපෙයය... අරහන්තං ජීවිතා වෝරෝපෙයය... තථාගතස්ස දුට්ඨේන චිත්තේන ලෝහිතං උප්පාදෙයය... සංඝං භින්දෙයය... අඤ්ඤං සත්ථාරං උද්දිසෙයය නේතං ඨානං විජ්ජති.

මහණෙනි, දිට්ඨි සම්පන්න **සෝතාපන්න පුද්ගලයා අතින් මව මැරීම, පියා මැරීම, රහතන් වහන්සේ නමකගේ දිවි තොර කිරීම, දුෂ්ට සිතින් තථාගතයන් වහන්සේගේ ශරීරයේ ලේ සෙලවීම, සංඝ භේදය, අන්‍ය ශාස්තෘ සරණ යාම කියන මේ වැරදි කවදාවත් සිද්ධ වෙන්න හේතු නෑ.**

දිට්ඨි සම්පන්න පුග්ගලෝ කිඤ්චි සංඛාරං නිච්චතෝ සුඛතෝ, ධම්මං අත්තතෝ උපගච්ඡෙයය නේතං ඨානං විජ්ජති (අ. නි. අට්ඨාන පාළිය 54 පිටුව)

දිට්ඨි සම්පන්න පුද්ගලයා කිසිම සංස්කාරයක් නිච්චයි සුඛයි අත්තයි කියල දෘෂ්ටිගතික වෙන්නෙ නෑ කියල ඉහත පාඨයෙන් පෙන්වා තියෙනවා.

සෝතාපන්න පුද්ගලයෙක් විසින්, ඝාතනය කරන්න හේතු නෑ, අවකාස නෑ කියල සඳහන් වෙන්නෙ මව මැරීම, පියා මැරීම, රහතන් වහන්සේ නමකගේ දිවි තොර කිරීම කියන කාරණා තුන විතරයි. මිනී මරන්නෙ නෑ කියලවත් සඳහන් වෙන්නෙ නෑ. අ. නි. අට්ඨාන පාළියේ සඳහන් වෙන විදිහට දිට්ඨි සම්පන්න පුද්ගලයා කොහෙත්ම කරන්නෙ නැත්තෙ කාරණා නවයක් විතරයි.

ඒ තමයි පංචානන්තරීය හා අන්‍ය ශාස්තෘ සරණ යාම කියන කරුණු හය සහ කිසිම සංඛාරයක් නිච්ච,

සුබ ලෙසත්, කිසිම ධර්මයක් අත්ත ලෙසත් දෘෂ්ටිගත නොවීම කියන කරුණු තුනත් සමග තියෙන කාරණා නවය. "අට්ඨානමේතං භික්ඛවේ අනවකාසො" සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාට ඉහත කරුණු නවය කරන්න අවකාසයක් කිසි විදිහකින් ඇතිවෙන්නෙ නෑ.

මේ කියපු කාරණා නවයෙන් පරිබාහිරව තියෙන වරදක් කලාතුරකින් ප්‍රමාද දෝසයකින් හෝ සිද්ධ වෙන්න අවකාස තියෙනවා කියන කාරණයත් ඉහත පාඨය අනුව කියවෙනවා. දිට්ඨි සම්පන්න පුද්ගලයෙක් අතින් පංච දුශ්චරිතයට අයිති වරදක් කොහෙත්ම සිද්ධ වෙන්න ඉඩක් නැත්නම්, සෝවාන් කෙනෙක් අතින් නොකරන වැරදි ගොනුවට ඒ කරුණුත් අනිවාර්යෙන්ම එකතු වෙන්න ඕන. නමුත් එහෙම සඳහන් කිරීමක් තථාගතයන් වහන්සේ සිද්ධ කරල නැත්තෙ, දිට්ඨි විප්පයුක්තව හෝ එවැනි වරදක් සිද්ධ වෙන්න සෝතාපන්න පුද්ගලයාට අවකාසයක් තියෙන නිසා.

අ. නි. 4 - 248 පිටුවේ එන <u>පහීන සූත්‍රයේ,</u> සෝතාපන්න පුද්ගලයා අපායගාමී රාගය, අපායගාමී ද්වේශය, අපායගාමී මෝහය, සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස දුරු කරල තියෙන බව සඳහන් වෙනවා. (සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාසෝ, අපායගාමිනියෝ රාගෝ, අපායගාමිනියෝ දෝසෝ, අපායගාමිනියෝ මෝහෝ, දිට්ඨි සම්පන්න පුග්ගලස්ස පහීනාති)

දිට්ඨි සම්පන්න පුද්ගලයාට සතර අපායේ උපදින මට්ටමට රාග, ද්වේශ, මෝහ නැගුනෙ නැති වුනාට, කාම සුගතියේ උපදින්න හේතු වෙන රාග, ද්වේශ, මෝහ තවම ඉතිරි වෙලා තියෙනවා. ඒ නිසා ඔහු අතින් පාපයක් සිද්ධ නොවෙනවාමයි කියල කියන්න පුළුවන්කමක් නෑ. **"සබ්බ පාප පහීනස්ස" කියල සඳහන් වෙන්නෙ රහතන් වහන්සේ සම්බන්ධයෙන් විතරයි. එයින් කියවෙන්නෙ සියලු පව් ප්‍රහීණයි කියන එක.**

**දැන දැන සතෙක් මරන්නෙ නෑ, සොරකමක් කරන්නෙ නෑ, කාම මෛථුනයක යෙදෙන්නෙ නෑ, බොරු කියන්නෙ නෑ, සන්නිධිකාරක පරිභෝග වළඳන්නෙ නෑ කියල සඳහන් වෙන්නෙ රහතන් වහන්සේ ගැන විතරයි. මේ වැරදි කොහෙත්ම සිද්ධ වෙන්නෙ නැත්තෙ රහතන් වහන්සේගෙන් විතරක් නම්, ඉන් මෙහා මග ඵල ලාභීන්ගෙන් ප්‍රමාද දෝසයකින් හරි වරදක් වෙන්න ඉඩ තියෙනවා කියන එක ඒකෙන් කියවෙනවා. එහෙම වෙන්නෙ නැත්නම්, අරිහත් ඵලයෙන් මෙහා ඉන්න මග ඵල ලාභීන්ගෙනුත් මේ වැරදි කොහෙත්ම සිද්ධ වෙන්නෙ නෑ කියල දේශනා කරන්න ඕන. ඒ කියන්නෙ සෝවාන් පුද්ගලයා රහතන් වහන්සේට සමාන වෙන්න ඕන. නමුත් ඒක වෙන්න විදිහක් නෑ.**

සික්ඛා පද විස්තර කරන තැන්වල පවා, ඒ රහතන් වහන්සේ ජීවිතාන්තය තෙක් පර පණ නැසීමෙන් වෙන්ව පර පරණ නැසීම අතහැර බහා තැබූ දැල් උගුල් ආයුධ ඇතිව සියලු ප්‍රාණ භූතයන් කෙරෙහි හිතානුකම්පීව වාසය කරන්නේය කියල සඳහන් වෙනවා. අනික් සික්ඛා පද ගැනත් ඒ විදිහටම විස්තර වෙනවා. මෙයින් පැහැදිලි වෙනවා, ජීවිතාන්තය තෙක් ඒ වැරදි කොහෙත්ම කෙරෙන්නෙ නැත්තෙ රහතන් වහන්සේගෙන් විතරයි කියන කාරණය.

ඛු. නි. සූත්‍ර නිපාතයේ 68 පිටුවේ සඳහන් වෙන, අපි කවුරුත් දන්න රතන සූත්‍රයේ "කිඤ්චාපි සො කම්මං කරෝති පාපකං කායේන වාචා උදචේතසාවා" සෝවාන් ආර්ය ශ්‍රාවකයා ප්‍රමාද දෝසයකින් හරි සිතින් කයින් වචනයෙන් පාපයක් කළත් "අබබ්බෝ සො තස්ස පටිච්ඡාදාය" ඔහුට ඒ වරද හැඟවෙන්නෙ නෑ, ඔහු ඒ වරද වරද විදිහට දැකල ආයති සංවරයේ පිහිටන බව කියවෙනවා. "වැරැද්දක් සිද්ධ වුනත්" කියන එකෙන් පේනවා ප්‍රමාදයකින් හෝ වැරැද්දක් කෙරෙන්න ඉඩ තියෙන බව.

රතන සූත්‍රයේ "ඡ චාභි ඨානානි අබබ්බෝ කාතුං" කියන පාඨයෙන්, දිට්ඨි සම්පන්න පුද්ගලයා කාරණා හයකට විතරයි අභව්‍ය කියල සඳහන් වෙන්නෙ. අට්ඨාන පාළියේ මුලින් විස්තර කරපු කාරණා තුනත් එක්ක සෝතාපන්න පුද්ගලයා අතින් කාරණා 9 ක් කොහෙත්ම කෙරෙන්නෙ නෑ.

දැන් එතකොට මේ කථාවත්ථුප්‍රකරණයේ තියෙන, "සෝතාපන්න පුද්ගලයා දැන දැන සතෙකු ජීවිතයෙන් තොර කරන්නේය යනු නොකිය යුතු බව" කියන කාරණයත් ධර්මානුකූලව විග්‍රහ කරගන්න ඕන. මොකද මේ මාතෘකා පාළිය විතරයි දීල තියෙන්නෙ. සෝතාපන්න පුද්ගලයෙක් කියන්නෙ ලෝකයේ අනිච්ච, දුක්ඛ, අනත්ත, අසාර බව දැකපු දෘෂ්ටි විප්‍රයුක්ත කෙනෙක්. ඒ කියන්නෙ මේ ලෝකයේ කිසිම දෙයක් නිච්චයි, සුඛයි, අත්තයි, සාරයි කියන දෘෂ්ටියක් සෝවාන් පුද්ගලයට නෑ. යම් කිසි අපාගත නොවන මට්ටමේ පාපයක් ඔහු / ඇය අතින් සිද්ධ වුනත් ඒක දෘෂ්ටි විප්‍රයුක්තයි. ඒ කියන්නෙ දෘෂ්ටි බිඳිල තියෙන නිසා, තමන් කරපු පාප කර්මය නිවැරදියි, හොඳයි කියල දකින්නෙ නෑ, වරද හැඟවෙන්නෙ නෑ, වරද වරද විදිහට දකිනවා. නමුත් කරගන්න දෙයක් නැතිකමට අවස්ථානුකූලව අකමැත්තෙන් එහෙම පාපයක් සිද්ධ වෙන්න පුළුවන්.

මේ කාරණය උදාහරණයකින් මේ විදිහට පැහැදිලි කරන්න පුළුවන්. යම් කිසි විදිහකින් අඹු දරුවන් පෝෂණය කරන පවුල් ජීවිතයක් ගත කරන කෙනෙක් බණක් අහල සෝවාන් වෙනවා. හැබැයි අන්ත දුප්පත්. එදා වේල හොයාගන්න තරම්වත් හැකියාවක් නෑ. මොනවහරි කන්න ඉල්ලල දරුවන් අඬන්න ගන්නකොට, දරුවන් බඩගින්නෙ තියන්න බැරි නිසාත්, ජීවිතය පවත්වගන්න අවශ්‍ය නිසාත්, කරගන්නම දෙයක් නැතිකමට අකමැත්තෙන් වුනත් අල්ලපු වත්තෙ තියෙන මඤ්ඤොක්ක අලයක් උදුරගෙන එනවා. හොරකමක් කළා. පාපයක් තමයි. හැබැයි දෘෂ්ටි විප්‍රයුක්ත නිසා පෘතජ්ජනයෙක් කරන හොරකමට වඩා ඒකෙන් නැගෙන බලය අඩුයි. මොකද වරද හැඟවෙන්නෙ නෑ. ඒක පාපයක්, වරදක් බව දකිනවා. මෙන්න මේ වගේ සිත්වලට කියන්නෙ උපේක්ෂා සහගත දෘෂ්ටි විප්‍රයුක්ත සිත් කියල.

දැන් එතකොට මේ කතාවත්ථුප්‍රකරණයේ තියෙන කාරණය පැහැදිලියි. ඒ කියන්නෙ පර පණ නැසීම පාපයක්, වරදක්, අසාධාරණයක් බව දන්නවා, දකිනවා. එහෙම දැනගෙන ඒ වගේ දෙයක් ඕනෑකමින්, කැමැත්තෙන් කරන්නෙ නෑ. සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාගේ සිල් ගුණ ගැන කියවෙනකොට පාණාතිපාතා පටිවිරතෝ හෝති කියන්නෙ ඒකයි. ප්‍රාණඝාතයට කැමැත්තක් නෑ, නමුත් අකමැත්තෙන් සිද්ධ වෙන්න පුළුවන්. එහෙම නැතිව පෘතජ්ජනයෙක් වගේ ඒක හොඳයි යහපතයි, අනුන් මරල හරි මගේ වැඩේ කරගන්න ඕන කියන දැනීමකින් නෙවෙයි ඒ වගේ දෙයක් සිද්ධ කරන්නෙ. මොකද "තේන හි න... සඤ්චිච්ච පාණං..." කිව්වම,

සඤ්චිච්ච කියන වචනයට කැමැත්තෙන් කියන අර්ථයත් යෙදෙනවා. ඒක පාළි ශබ්ද කෝෂවලත් තියෙනවා. මෙන්න මේක තමයි මේ දැන දැන කියන එකෙන් අදහස් වෙන්නෙ. ත්‍රිපිටක පෙළ දහමටත් පරස්පර නොවෙන විදිහට කතාවත්ථුප්‍රකරණයේ තියෙන ඒ කාරණය තෝර ගන්න ඕන ඒ විදිහට.

**යමෙක් අකැමැත්තෙන් ප්‍රාණඝාතයක් කරනකොටයි, කැමැත්තෙන් කරනකොටයි ලොකු වෙනසක් තියෙනවා. යමෙක් අකැමැත්තෙන් වරදක් / පාපයක් කරනව නම් ඒක වරදක් / පාපයක් බව දන්න නිසා ඒ හිත දෘෂ්ටි විප්‍රයුක්තයි. ඒකෙන් එන බලය අඩුයි. හැබැයි ඒක වරදක් / පාපයක් බව දකින්නෙ නැතිව, ඒක නිවැරදියි හොඳයි යහපතයි කියන අදහසින් කැමැත්තෙන් කරනව නම් ඒක දෘෂ්ටි සම්ප්‍රයුක්තයි. ඒකෙන් නැගෙන බලය වැඩියි. දැන් එතකොට දෘෂ්ටි විප්‍රයුක්ත කෙනෙක් අතින් සිද්ධ වෙන පාපය, හරියට අතේ තුවාල නැති කෙනෙක් වස අල්ලනව වගේ වැඩක්. අතේ තුවාල නැති නිසා ඔහුට වස වදින්නෙ නෑ. සෝවාන් කෙනෙක් විසින් කරන පාපයක බලයත් ඒ වගේ අල්පයි. අතේ තුවාල තියෙන කෙනෙක් වස ඇල්ලුවොත් ඔහුට වස ශරීරගත වෙනවා. හරියට පෘතජ්ජනයෙක් කරන පාපයක් වගේ. ඒකෙන් නැගෙන බලය අති මහත්. මෙන්න මේ විදිහට තමයි කතාවත්ථුප්‍රකරණයේ තියෙන කාරණය තෝරගන්න ඕන.**

ඒ නිසා ඒ රූපවාහිනී වැඩසටහන තුල, ශ්‍රී මුඛ බුද්ධ දේශනාවන් වන ත්‍රිපිටක සූත්‍ර දේශනාවලින් කරුණු පෙන්වන්නෙ නැතිව, කතාවත්ථුප්‍රකරණයේ එන මාතෘකා පාළිය විතරක් අරගෙන, ඒකත් විග්‍රහ කරගන්නෙ නැතිව සෝවාන් පුද්ගලයා නොකරන වැරදි ගැන කතා කිරීම ඒ තරම් ප්‍රඥා ගෝචර දෙයක් නෙවෙයි.

ඊළඟට ස. නි. (5 - 2) - 190 පිටුවේ සඳහන් වෙන සරකානි සූත්‍රය පිළිබඳවත් මේ යුගයේ විවිධාකාර මත වාද ගොඩ නැගිල තියෙනවා. සරකානි උපාසකතුමා කළුරිය කළාට පස්සෙ තථාගතයන් වහන්සේ දේශනා කරනවා, ඒ උපාසකතුමා සෝතාපන්න මග ඵල ලාභියෙක් කියල. මේ කාරණය දැනගත්ත සාක්‍යයන්, පුදුම වැඩක්නෙ සරකානි සෝවාන් වෙලා කියල බුදු රජාණන් වහන්සේ ප්‍රකාශ කරනවා, දැන් කවුද සෝවාන් නැත්තෙ කියල ගර්හා



කළා, බැන වැදුනා. සරකානි සාක්‍යයා සික්ෂා පද ආරක්ෂා කරන්න දුබලයෙක් වුනා, ඔහු මත් වතුර පානය කළා කියල ප්‍රකාශ කළා.

“දීඝරත්තං උපාසකෝ බුද්ධං සරණං ගතෝ, ධම්මං සරණං ගතෝ, සංඝං සරණං ගතෝ, සෝ කථං විනිපාතං ගච්ඡෙය්‍ය” දීර්ඝ කාලයක් මුළුල්ලේ සරකානි උපාසක තෙරුවන් සරණ ගිහින් හිටියෙ, ඔහු කොහොමද අපායට යන්නෙ කියල එතැනදි බුදු රජාණන් වහන්සේ දේශනා කරනවා.

සරකානි සූත්‍රයේ සඳහන් වෙන විදිහට, සරකානි උපාසකතුමා තෙරුවන් සරණ ගිහින් හිටපු නිසා අපායෙ උපදින්න හේතු නැති බව බුදුන් වහන්සේ පැහැදිලි කරනවා. කෙනෙක් තෙරුවන් සරණ ගිහින් උපාසකයෙක් බවට පත් වුනා කියන්නෙ ඒ තැනැත්තා සෝවාන් වුනා කියන එක. ඒ නිසා තමයි අපායෙ උපදින්නෙ නෑ කියල සූත්‍රයේ සඳහන් වෙන්නෙ.

බුදු රජාණන් වහන්සේ ජීවමාන කාලයේ බොහෝ අය උන්වහන්සේ ඉදිරියේ ධර්මය ශ්‍රවණය කරල අවසානයේ තමන්ට ඇතිවෙච්ච දහම් ප්‍රීතිය මේ විදිහට වාක්‍යයකින් ප්‍රකාශ කරනවා.

“අභික්කන්තං භෝ ගෝතම, අභික්කන්තං භෝ ගෝතම, සෙය්‍යථාපි භෝ ගෝතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූල්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරේ වා තේල පජ්ජෝතං ධාරෙය්‍ය චක්ඛුමන්තෝ රූපානි දක්ඛින්තීති

ඒවං මේවං භෝතා ගෝත මේන අනේක පරියායේන ධම්මෝ පකාසිතෝ, ඒසාහං භගවන්තං ගෝතමං සරණං ගච්ඡාමි, ධම්මංච භික්ඛු සංඝංච උපාසකං මං භවං ගෝතමෝ ධාරේතු, අජ්ජතග්ගේ පානුපේතං සරණං ගතන්ති”

භවත් ගෞතමයන් වහන්ස ඉතා මැනවි. යටිකුරු කරපු දෙයක් උඩට හැරෙව්වා වගේ, වැහිල තිබ්බිච්ච දෙයක් ඇරල පෙන්නුවා වගේ, මං මුලා වුන කෙනෙකුට පාර පෙන්නුවා වගේ, ඇස් ඇති කෙනෙකුට රූප දකීවායි අඳුරේ තෙල් පහනක් දැල් වුවා වගේ, ඔබ වහන්සේ නොයෙක් ආකාරයෙන් ධර්මය දේශනා කළා. මම බුද්ධ, ධම්ම, සංඝ යන තෙරුවන් සරණ යනවා, අද පටන් මා දිවි හිමියෙන් තෙරුවන් සරණගත උපාසකයෙක් ලෙස පිළිගන්න සේක්වා.

මේ ප්‍රීති වාක්‍යයෙන් පේන්නෙ, ඒ පුද්ගලයාට ධර්මාවබෝධය තුලින් ලෝකයේ යථාර්ථය වැටහුනා කියන එක. “විරජං වීතමලං ධම්ම චක්ඛුං උදපාදි” කියල දම්සක් පැවතුම් සූත්‍රයේ කොණ්ඩඤ්ඤ තාපසතුමාට කෙළෙස් රජස් දුරු කරන, කෙළෙස් මළ නැති කරන දහම් ඇස පහල වුනා කිව්වෙ, කෙනෙකුට ධර්මය ශ්‍රවණය තුලින් ලැබෙන මූලික ධර්මාවබෝධය, සෝතාපන්න ඵලය.

“චක්ඛුං උදපාදි” දහම් ඇස පහල වෙනකොට “ඤාණං උදපාදි” දුක්ඛේ ඤාණං, දුක්ඛ සමුදයේ ඤාණං, දුක්ඛ නිරෝධයේ ඤාණං, දුක්ඛ නිරෝධ ගාමිණි පටිපදාය ඤාණං කියන සිවුසස් දහම් පිළිබඳ ඤාණ හතරක් ලැබෙනවා. “පඤ්ඤා උදපාදි” ඒ ඤාණ 4 ලැබුන ආර්ය ශ්‍රාවකයාට පංච උපාදානස්කන්ධයේ ප්‍රාකාරයන් මැනවින් දැක ගැනීමේ විදර්ශනා ප්‍රඥාව පහල වෙනවා. “විජ්ජා උදපාදි” සතර අපාගත වීමට හේතු වන අවිද්‍යාව දුරු වෙලා ලෝකයේ යථාර්ථය දකින සැබෑ විද්‍යාව අවබෝධ වෙනවා. එහෙම අවබෝධ වුන කෙනාට “ආලෝකෝ උදපාදි” ලෝකයෙන් එතෙර වීමේ ආලෝක (ලෝක අලෝක - ආලෝක) ස්වභාවය ඇති වෙනවා. ඒ ආලෝක තත්ත්වය, අපාගත වන අවිද්‍යා අඳුර නැති ප්‍රඥාලෝකයෙන් යුක්ත නිසා ආලෝකයෙන් යුක්තයි.

ඉහත ඤාණ 4 යමෙකුට ධර්මාවබෝධය තුලින් ලැබුන නම්, ඒකට තමයි සෝතාපන්න භාවයට පත්වෙනව කියන්නෙ. උපාසක, උපාසිකා, භික්ෂු, භික්ෂුණී තත්වය කියන්නෙත් මේ අවබෝධයට පත් වෙච්ච අය හඳුන්වන ගිහි පැවිදි නාමයන් හතර.

යෝච බුද්ධංච ධම්මංච
සංඝංච සරණං ගතෝ

චත්තාරි අරිය සච්චානි
සම්මප්පඤ්ඤා පස්සති

(ධම්ම පදය - බුද්ධ වර්ගය)

යමෙක් බුද්ධ, ධම්ම, සංඝ කියන තෙරුවන් සරණ ගියා නම්, ඔහු චතුරාර්ය සත්‍යය සම්‍යක් ප්‍රඥාවෙන් දැකපු කෙනෙක්. සරකානි උපාසකතුමා තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදිහට හිටිය කියල තථාගතයන් වහන්සේ වදාළේ ඔහු සෝතාපන්න වෙලා හිටියා කියන එක.

සරකානි සාක්‍යයා දිගු කලක් මත් වතුරට ඇබ්බැහි වෙලා හිටපු කෙනෙක් බව සූත්‍ර දේශනාවේ කරුණුවලින් ඔප්පු වෙනවා. ඒ නිසා ඔහු සෝවාන් වුනාට පස්සෙත් පුරුද්දට මත් වතුර පානය කළා කියල සූත්‍ර දේශනාවේ, සාක්‍ය වංශිකයන් කියන කතාවෙන් සනාථ වෙනවා.

මොකද කෙනෙක්ගෙ පුරුදු කියන ඒවා ජීවිත හැසිරීමෙදි සෑහෙන්න බලපානවා. **රහතන් වහන්සේලාට පවා වාසනා කෙළෙස් (වාසය කිරීමේ න්‍යාය නිසා හට ගත්) විදිහට සසර පුරුදු බලපාල මිනිස්සු අපැහැදීමට හේතු වන කරුණු සිද්ධ වෙලා තියෙනවා. ඒ බව බුදුන් වහන්සේ ජීවමාන කාලයේ වැඩ හිටපු, වසල වාදයෙන් කතා කරපු පිළින්දවච්ච මහ රහතන් වහන්සේ, ඒ වගේම වක්කඩෙන් පැනපු හත් අවුරුදු වයස් රහතන් වහන්සේ වගේ උතුමන්ගේ කතාවලින් පැහැදිලි වෙනවා. හැබැයි රහතන් වහන්සේගේ වාසනා කෙළෙස් සසර ගමනට හේතු වෙන්නෙ නෑ.**

වාසනා ගුණ හෙවත් සසර වාසය කරපු න්‍යායන් නිසා හට ගත්ත පුරුදු භවයෙන් භවයටත් බලපානවා. සම්මා සම්බුදු රජාණන් වහන්සේලාට විතරයි වාසනා පුරුදුත් සමගම සියලු කෙළෙස් දුරු වෙන්නෙ. ඒ නිසා තමයි සවාසනා සකල ක්ලේශ තථාගතයන් වහන්සේ ප්‍රහීණ කළා කියන්නෙ. නමුත් රහතන් වහන්සේලාගේ සියලු කෙළෙස් ප්‍රහීණ වුනාට වාසනා පුරුදු (වාසනා කෙළෙස්) ඉතිරි වෙනවා. හැබැයි ඒකත් දිගටම පවතින්නෙ නෑ. යම් කිසි කාලයක් තිබිල දුරු වෙලා යනවා.

බුදු ගුණාලංකාරය කියන කවි පොතේ කවියක් තියෙනවා, "ලොව සැමටමත් ඇති - වාසනා ගුණ කිසිවකුත් නැති" කියල. ලෝකෙ සියලු දෙනාටම වාසනා පුරුදු තියෙනවා. නමුත් බුදුවරු සවාසනා කෙළෙස් ප්‍රහීණ කරල තියෙන නිසා අල්ප මාත්‍ර වරදක්වත් උන්වහන්සේලාගෙන් සිද්ධ වෙන්නෙ නෑ. **වසවර්ති මාරයා තථාගතයන් වහන්සේගේ වරදක් සොයමින් මුළු ජීවිත කාලයේම පසුපස ආ බවත්, මාරයාටවත් කුඩා හෝ අඩුපාඩුවක් සොයා ගන්න බැරි වුන බවත් සඳහන් වෙනවා.**

සරකානි උපාසකතුමා තෙරුවන් සරණ ගිහින් සෝතාපන්න වෙලා හිටියත් පුරුද්දට මත් වතුර පානය කරල තියෙනවා. නමුත් වර්තමානයේ භික්ෂුන් වහන්සේලා පවා දම් සභා මණ්ඩපවල, සූත්‍රයේ කරුණු සහ සෝවාන් ආර්ය ශ්‍රාවකයා පිළිබඳ බුද්ධ දේශනා ගැන විමර්ශනයක් කරන්නෙ නැතිව, සරකානි උපාසකතුමා සෝවාන් වෙලා මත් වතුර බිව්වෙ නෑ කියන්න උත්සාහ කරන බව පේනවා.

ඒ කාරණය සනාථ කරන්න ඉදිරිපත් කරන එක කාරණයක් තමයි, සරකානි සූත්‍රයේ අවසානයට සඳහන් වෙන "මරණ කාලේ සික්ඛං සමාදයී" කියන පාඨය. මරණ කාලයේ හෙවත් අන්තිම කාලයේ සික්ෂා සමාදන් වුනා කියන එකයි මේ පාළි පාඨයෙන් කියවෙන්නෙ. නමුත් සරකානි උපාසකතුමා සෝවාන් වෙලා මත් වතුර පානය කළේ නෑ කියන අය ඉහත පාඨය අරගෙන, මරණාසන්න කාලයේ සෝවාන් වුන බව කියන්න උත්සාහ කරනවා. මොකද එතකොට මත් වතුර පානය කරල තියන්නෙ සෝවාන් වෙන්න ඉස්සර වෙලා කියන තර්කය ගොඩනගන්න පුළුවන් නිසා.

"මරණාසන්නයේ සික්ෂා සමාදන් වුනා" කියන වාක්‍යයෙන්, "සෝවාන් වුනාම" කියල අර්ථ දක්වන්න පුළුවන් කමක් නෑ. මොකද දීර්ඝ කාලයක පටන් සරකානි තෙරුවන් සරණ ගිය උපාසකයෙක් බව සූත්‍රයේ විස්තර වෙන නිසා. මරණාසන්න මොහොතේ සරකානි උපාසකතුමාට සෝවාන් වෙන්න නම්, තථාගතයන් වහන්සේ විසින් හෝ උන්වහන්සේගෙන් දහම් අසාගත් ශ්‍රාවකයන් වහන්සේ නමක් විසින් හෝ මැරෙන්න ආසන්නයේ ඔහුට බණ කියල තියෙන්න ඕන. නමුත් එහෙම සිද්ධියක් සූත්‍රයේ සඳහන් වෙන්නෙ නෑ.

**සරකානි උපාසකතුමා මරණාසන්න කාලයේ සික්ෂා සමාදන් වුනා කියන එකෙන් අදහස් වෙන්නෙ, සෝවාන් වෙලා ඉඳෙත්දිත් පුරුද්දට හෝ ප්‍රමාද දෝසයකින් හෝ මත් වතුර පානය නිසා සික්ෂා කැඩීමක් සිද්ධ වෙලා තියෙනවා කියන කාරණය. මරණාසන්න කාලයේ හෝ තමන් අතින් සිද්ධ වෙච්ච ඒ අඩුපාඩු, වරද වරද විදිහට දැකල ආයති සංවරයේ පිහිටපු එක තමයි මරණාසන්න කාලෙ සික්ෂා සමාදන් වුනා කියන්නෙ. එහෙම නැතිව මරණාසන්න අවස්ථාවේ සෝවාන් වුන බවක් ඒ පාඨයෙන් ගම්‍ය වෙන්නෙ නෑ.**

ඇතැමුන් සරකානි උපාසකුමා මත් වතුර පානය කළා කියල පිළිනොගන්න හේතුවක් තියෙනවා. සෝවාන් පුද්ගලයා "අරියකන්ත සීලේන සමන්නාගතෝ හෝති" ආර්යකාන්ත සීලයෙන් යුක්ත බව ධර්මයේ සඳහන් වෙනවා. ආර්යකාන්ත සීලය ගැන විස්තර වර්තමානයේ යටපත් වෙලා ගිහින් තියෙන්නෙ.

සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාගේ නිත්‍ය සීලය තමයි පංච සීලය. නමුත් වර්තමානයේ පංච සීලය, පංච දුශ්චරිතයෙන් වැළකීම කියල වරදවාගෙන තියෙන්නෙ. පංච සීලය සෝවාන් පුද්ගලයාගෙන් කැඩෙන්නෙ නැති නිසා, දිට්ඨි සම්පන්න පුද්ගලයා (සෝවාන්) විසින් පංච දුශ්චරිතයට අයිති කිසි වරදක් සිද්ධ වෙන්න විදිහක් නෑ කියල වර්තමානයේ බොහෝ ගිහි පැවිදි පිරිස් හිතාගෙන ඉන්නවා. මේ මතය හරි කියල ගත්තොත්, අර මුලින් සූත්‍රානුසාරයෙන් පෙන්වා දුන්න, සෝවාන් කෙනා නොකරන වැරදි, රහතන් වහන්සේ අතින් කොහොමත්ම නොකරන වැරදි ආදිය සංසන්දනය කරල බලනකොට, ඒ මතය දහමට ගලපන්න බැරි බව ඔප්පු වෙනවා.

සෝතාපන්න පුද්ගලයාගේ නොකැඩෙන සීලය වෙන්නෙ වේරමණී සීලය, චේතනා සීලය, සංවර සීලය, පහාණ සීලය, අවීතික්කම සීලය කියන පහ. මේවා පංච සීලය කියලත් හැඳින්වෙනවා. හැබැයි මේ කියන්නෙ රහතන් වහන්සේගේ පංච සීලය නෙවෙයි.

සෝතාපන්න පුද්ගලයා (දිට්ඨි සම්පන්න පුද්ගලයා) අතින් සතර අපාගත වෙන්න හේතු වෙන පාපයක් රමණය නොකරන නිසා වේරමණී සීලයෙන් යුක්තයි. අපාගත වෙන මට්ටමේ පාප චේතනා පහල නොවෙන නිසා ඒක චේතනා සීලය වෙනවා. දුගතිගාමී වෙන මට්ටමේ පාප අසංවරතාවයක් ඇතිවෙන්නෙ නැති නිසා ඒක සංවර සීලය වෙනවා. අපාගත වෙන සියලු පාපයන් ප්‍රහීණ කරල තියෙන නිසා ඒක පහාණ සීලය වෙනවා. අපාගත වන මට්ටමට සික්ෂා උල්ලංඝනය වීමක් / කැඩීමක් සිදු නොවන නිසා ඒක අවිතික්කම සීලය වෙනවා. මේ තමයි සෝතාපන්න ආර්ය ශ්‍රාවකයාගේ නිත්‍ය සීලය වූ පංච සීලය. මේක පිහිටන සීලයක් මිසක් සමාදන් වෙලා ආයාසයෙන් රකින සීලයක් නෙවෙයි.

පංච දුශ්චරිතවලින් වැළකීම පංච සීලය කියල කාලාන්තරයක් තිස්සේ සද්ධර්ම ප්‍රතිරූපකයක් ආපු එකේ වැරැද්දෙන්, සෝවාන් පුද්ගලයාගේ ආර්ය සීලය යටපත් වෙලා ගියා. ඒ නිසාම ධර්ම පරස්පරතා ගොඩ නැගිල තියෙනවා.

පඨව්‍යා ඒක රජ්ජේන
සග්ගස්ස ගමනේනවා
සබ්බ ලෝකාධි පච්චේන
සෝතාපත්ති ඵලං වරං

(ධම්ම පදය - ලෝක වග්ගය)

මුළු පොළවේ සක්විති රජ වෙනවට වඩා, ස්වර්ගයේ ඉපදෙනවට වඩා, සියලු ලොව අධිපති බවටත් වඩා සෝවාන් ඵලය උතුම්. වෙනත් කොතැනක අධිපතිකම් ලැබුවත් ඔවුන් සතර අපායෙන් මිදිල නැති පෘතජ්ජනයෝ.

ඒ වගේම වර්තමාන යුගයේ නිවන් අවබෝධ කර ගන්න කියල බොහෝ අය වඩන භාවනා කර්මස්ථානත් ඉතා අවුල් සහගත බව බුද්ධ දේශනාව අනුව බලනකොට පෙනී යනවා. බුද්ධ සාසනයෙන් බැහැරව තියෙන විවිධ ලෞකික අරමුණු අරගෙන වඩන ක්‍රමවේද, පසුකාලීන ග්‍රන්ථ තුලින් සාම්ප්‍රදායික බුදු දහමට මිශ්‍ර වෙලා නිවන් මග පැටලිලි සහගත බවට පත් වෙලා තියෙනවා. වර්තමානයේ ඉතා ප්‍රකට භාවනාවක් වන ආස්වාස ප්‍රස්වාස අරමුණු කරගෙන වඩන ආනාපානසති භාවනාව ඉන් ප්‍රධාන තැනක් ගන්නවා.

මේ භාවනා මාර්ගය බුදු සසුනෙන් පරිබාහිරව ඈත අතීතයේ ඉඳල යෝගී සමාජයේ බහුලව දකින්න ලැබෙනවා. අදත් ප්‍රාණයාම වශයෙන් විවිධ ක්‍රමවේද ඔස්සේ මේ ක්‍රමය ලෝකය පුරා ප්‍රසිද්ධ වෙලා තියෙනවා. ආස්වාස ප්‍රාස්වාස මගින් ගන්න වායු අරමුණ කාමාවචර නොවන රූපාවචර අරමුණක්. ඒකෙන් ලෞකික චිත්ත සමාධියක් ලබන්න පුළුවන් වෙන්නෙ රූපාවචර අරමුණක් ඔස්සේ සිත පුරුදු කිරීම නිසා. ධ්‍යාන, අභිඥා වගේ අධි මානසික ශක්තීන් අබුද්ධෝත්පාද කාලවලදි පවා යෝගීන්, ඍෂිවරුන් උපදවා ගන්නෙ පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආකාස, විඤ්ඤාණ, නීල, පීත, ලෝහිත, ඕදාත කියන දස කසිනාදී අරමුණු මුල් කරගෙන.

වර්තමාන බෞද්ධ කියන සම්මත ගිහි පැවිදි සමාජය තුල ආනාපාන සතිය කියල වඩන්නෙ වායෝ ධාතුව අරමුණු කරගෙන. මේ වගේ ලෞකික අරමුණු අරගෙන භාවනා කිරීම තථාගත බුද්ධ දේශනාවට කොතරම් එකඟද කියල පෙළ දහමට අනුව විමසල බලන්න ඕන. ඛු. නි. නෙත්තිප්‍රකරණයේ 62 පිටුවේ පටිනිද්දේසවාරයේ, ලෞකික අරමුණු අරගෙන භාවනා කිරීම සම්බන්ධයෙන් මේ විදිහෙ දේශනාවක් තියෙනවා.

"නච පඨවිං නිස්සාය ඣායති ඣායී ඣායතිච, නච ආපං නිස්සාය ඣායති ඣායී ඣායතිච, නච තේජං නිස්සාය ඣායති ඣායී ඣායතිච, නච වායුං නිස්සාය ඣායති ඣායී ඣායතිච..."

ආර්යන් පඨවිය ඇසුරු කරගෙන ධ්‍යාන කරන්නෙ නෑ. නමුත් සියලු සංඛාරයන්ගේ සංසිඳීම් සංඛ්‍යාත නිවන සිහි කරගෙන දැහැන් වඩනවා. ආපෝ (ජලය), තේජෝ (ගින්න), වායුව අරමුණු කරගෙන ආර්යන් දැහැන් වඩන්නෙ නෑ. නමුත් නිවන සිහි කරගෙන දැහැන් වඩනවා.

මේ දේශනාව අනුව, ආර්ය මාර්ගය වඩන බුද්ධ ශ්‍රාවකයා පඨවි, ආපෝ, තේජෝ, වායු... ආදී අරමුණු අරගෙන දැහැන් වඩන්නෙ නැති බවත්, දුටු නිවන සිහි කරගෙන ආර්ය දැහැන් වඩන බවත් පැහැදිලිව විස්තර වෙනවා. සෑහෙන කාලයක ඉඳල බෞද්ධ සමාජය තුල ආස්වාස ප්‍රාස්වාස වායුව අරමුණු කරගෙන "ආනාපාන සතිය" නමින් කරන භාවනාව බුද්ධ සාසනයෙන් පරිබාහිරව තිබිච්ච අනාපානය මිසක් නිවන් අවබෝධ කර ගන්න හේතු වෙන, තථාගතයන් වහන්සේ දේශනා කළ ආර්ය ආනාපාන සතිය නොවන බව ඉතා පැහැදිලියි.

පඨවි, ආපෝ, තේජෝ, වායෝ... ආදී සංඥා නැතිව ආර්ය සමාධි ලබන හැටි අ. නි. (6) පඨම සමාධි, දුතීය සමාධි, තතිය සමාධි, චතුත්ථ සමාධි සූත්‍රවල මැනවින් විස්තර කරල තියෙනවා. පඨම සමාධි සූත්‍රය තුල මේ විදිහට විස්තර වෙනවා. පඨවියෙහි පඨවි සංඥාව ඇති නොවන, ආපෝ ධාතුවෙහි ආපෝ සංඥාව ඇති නොවන, තේජෝ ධාතුවෙහි තේජෝ සංඥාව ඇති නොවන, වායුවෙහි වායෝ සංඥාව ඇති නොවන... එබඳු සමාධි ප්‍රතිලාභයක් තියෙනවද කියල භික්ෂූන් වහන්සේලා තථාගතයන් වහන්සේගෙන් ප්‍රශ්නයක් අහනවා. එතකොට උන් වහන්සේ එබඳු සමාධි ලබන ක්‍රමයක් තියෙන බව මේ විදිහට දේශනා කරනවා.

මහණෙනි, මේ සාසනයේ භික්ෂුව සියලු සංඛාරයන්ගේ සංසිඳීමෙන් (සබ්බ සංඛාර සමථෝ) සියලු උපාදානයන්ගේ නොබැඳීමක් (සබ්බූපධි පටිනිස්සග්ගෝ) තණ්හාවේ දුරුවීමක් (තණ්හක්ඛයෝ), රාගයන්ගෙන් වෙන්වීමක් (විරාගෝ), කෙළෙසුන්ගේ උදා නොවීමක් (නිරෝධෝ), බැඳීම්වලින් නිදහස් වීමක් (නිබ්බාණං - නිබ් + බාණ = බැඳීමක් නැති) වෙනවනම් එබඳු ස්වභාවය ශාන්තයි, ප්‍රණීතයි (ඒතං සන්තං ඒතං පණීතං) කියල, සිව්සස් දහම් දර්ශනය වීමෙන් යම් දුටු නිවනක් තියෙනව නම්, ඒක සිහි කරගෙන සමාධි ධ්‍යාන වැඩීම පඨවියේ පඨවි සංඥා ආදිය ඇති නොවන සමාධි ප්‍රතිලාභයක් කියල දේශනා කරනවා.

මේ සූත්‍ර දේශනා අනුවත්, පඨවි... ආදී අරමුණු සංඥා ඇති කරගෙන ආර්ය මාර්ගය වඩන්නෙ නැති බවත්, නිවන මුඛ්‍ය නිමිත්ත විදිහට තියාගෙන ආර්ය මාර්ගය වඩන බවත් පැහැදිලි වෙනවා.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



**23 වන කොටස**

**මජ්ජිම නිකාය - 3**

<u>සච්ච විභංග සූත්‍රය - 512 පිටුව</u>

බුදු පියාණන් වහන්සේ සැරියුත් මුගලන් දෙනමගේ ගුණ ගයා චතුරාර්ය සත්‍යය විග්‍රහ කිරීමේ උතුම් හැකියා ඥානය ඇති සැරියුත් හිමිගේ ගුණ ගයා උනන්දු කොට තබා වැඩිය අවස්ථාවක, උන්වහන්සේ චතුරාර්ය සත්‍යය විග්‍රහ කර භික්ෂූන්ට දේශනා කළ විස්තරය මෙහි අඩංගුය.

<u>අනාථ පිණ්ඩිකෝවාද සූත්‍රය - 528 පිටුව</u>

අසනීපව ඔත්පලව සිටි අනේපිඬු සිටුතුමන්ට දහම් දෙසීමට සැරියුත් හිමියන් හා ආනන්ද හිමියන් වැඩම කර එහිදී කළ දේශනාවකි.

ත්‍රිපිටකයේ සෑම තැනකම පාහේ, යමෙකුගේ මරණාසන්න දුක්ඛ වේදනාව විග්‍රහ කර ඇති ලෙස අනේපිඬු සිටුහුද මරණාසන්න දුක් වේදනා පවසා ඇත. ඇස, කන... ආදී ඉන්ද්‍රියන් මෙන්ම රූප, ශබ්ද... ආදී අරමුණුද තෘෂ්ණාවෙන් නොගන්නත්, එසේම ෂඩ් විඤ්ඤාණ, ෂඩ් සංස්පර්ශ, ෂඩ් සංස්පර්ශ වේදනා, ෂඩ් ධාතු, පංචස්කන්ධ, සතර අරූපායතන (අරූප ලෝක 4) යන මේවා තෘෂ්ණාවෙන් නොගන්නත්, නිශ්‍රිත නොවන්නටත් කටයුතු කළ යුතු බව පෙන්වා ඇත.

එසේම මෙලොව, පරලොව, රූපායතන ආදී ආයතන හයද නිශ්‍රිත නොවී තෘෂ්ණාවෙන් නොගන්න අවවාද කර ඇත. මෙබඳු දහමක් මීට පෙර අසා නැති බව කියා අනේපිඬු සිටුතුමා කඳුළු සැලූ බවද, ඒ ගැඹුරු දහම් දෙසන්නේ සංඝයාට බව එවිට ප්‍රකාශ කළ බවද පෙන්වයි.

අනේපිඬු සිටු මියගොස් තුසීපුර (තුසිත දෙව් ලොව) උපන්නේය. පසුව බුදු රජුන් දැක සැරියුත් හිමිගේ ගුණ ගයා ගිය පසු ඒ ගැන භික්ෂූන්ට දේශනා කළ මොහොතක, ඒ අනේපිඬු සිටු දේවතාවා විය හැකි යැයි අනඳ හිමි ප්‍රකාශ කළේය. තර්කයෙන් දත යුත්තක් ඔබ හරියට දුටුවා යැයි එවිට බුදු රජුන් අනඳ හිමියන්ව පසසා ඇත.

<u>ඡන්නෝවාද සූත්‍රය - 538 පිටුව</u>

ගිලන් බවට පත් ඡන්න තෙරුන් වෙත වැඩිය සැරියුත් හිමියන් ගිලන් ස්වභාවය ඇසූ විට, මරණාසන්න වූ පිරිස හැම තැනම (ත්‍රිපිටකයේ) නිතර පෙන්වා ඇති දුක් ස්වභාවය පෙන්වා සිටියා. ඉන්පසු ඇස, කන... ආදී ෂඩ් ඉන්ද්‍රියන් ගැනත්, ෂඩ් විඤ්ඤාණ ගැනත්, ඡන්දරාග ස්වභාවය ඇසූ විට ඒ බැඳීම් නැති බවත්, ඊට හේතුව ඇසූ විට, ඒ සෑම නිරෝධ ස්වභාව ඇති බවත් ප්‍රකාශ කර ශාස්ත්‍රාහරණය කරගන්නා බවත් කියා එසේ දිවි කෙළවර කර ගති (දැලි පිහියෙන් ගෙල සිඳ ගත්තා). ඡන්න හිමිගේ ගතිය, උපත ගැන සැරියුත් හිමි බුදු රජුන්ගෙන් ඇසූ විට, මුලදිම ඡන්න කෙළෙස් රහිත බවට පත් වූවා නේදැයි අසා, අනුපාදිශේෂ නිර්වාණයෙන් පිරිනිවන් පෑ බව පෙන්වා ඇත.

<u>පුන්නෝවාද සූත්‍රය - 546 පිටුව</u>

කමටහන් බලාපොරොත්තුව බුදු රජුන් හමු වූ පුන්න තෙරුන්ට දුන් කමටහන. ඉෂ්ට වූ කාන්ත වූ මනාප වූ ප්‍රිය ස්වරූප වූ කාමෝප සංහිත වූ සිත් ඇලවීමට (රජස්වලට හිත වූ) චක්ඛු විඤ්ඤෙය්‍යිය (චක්ඛු විඤ්ඤාණයට ගෝචර) රූපායතන, සෝත විඤ්ඤෙය්‍යිය ශබ්දායතන (මේ ආදී සළායතන) අභිනන්දනය කෙරේද, තෘෂ්ණා වශයෙන් ගෙන බෙනේද (කතා කරනවද), බැසගෙන ලැගගෙන සිටීද, ඒ මහණ හට තෘෂ්ණාව උපදී. තෘෂ්ණා සමුදයෙන් දුක්ඛ සමුදය වේ. එසේ නොසිටින විට තෘෂ්ණාව නොවේ. තෘෂ්ණා නිරෝධයෙන් දුක්ඛ නිරෝධය වේ.

කමටහන විස්තරව ඇත. අසා දැනගත් පුන්න හිමි සුනාපරන්ත දේශයට වැඩි අයුරුත්, දරුණු මිනිසුන් සිටි මේ පෙදෙසේ බොහෝ දෙනා හෙවත් 500 ක් පමණ උපාසකවරුද, 500 ක් පමණ උපාසිකාවෝද ඇති කර, ඒ අතුරු වසරේම (ඒ වසරේම) ත්‍රිවිද්‍යාද ලබා පසුව පිරි නිවී ගිය අයුරුත් විස්තර කර ඇත.

<u>නන්දකෝවාද සූත්‍රය - 552 පිටුව</u>

මෙහෙණිවරුන්ට අවවාද අනුසාසනා කිරීමට බුදු රජාණන් වහන්සේගේ උපදෙස් පරිදි මෙහෙණි ආරාමයට වැඩි නන්දක හිමියන් කළ ධර්ම දේශනාව මෙහි සඳහන් වේ. උන්වහන්සේ ප්‍රශ්නය අසන විට පිළිතුර තේරුම් ගෙන අනුකූල වදන් පවසන ලෙස අවවාද කර ඇස, කන... ආදී ෂඩ් ඉඳුරන් අනිච්ච වන හැටි, අනිච්ච නම් දුක් වන හැටි, අනිච්ච නම් දුක් නම් විපරිනාම නම් අනන්ත වන හැටි ප්‍රකාශ කෙරින. රූපායතන, ශබ්දායතන...ආදී ෂඩායතනද එසේම පිළිවිසීය. පහනක තෙල - වැටිය - දැල්ල උපමා කරද, ගසක මුල් - අතු - සෙවණැල්ල උපමා කරද, උපාදාන නිරෝධය පෙන්වා, **හම ගසා යළි හම පෙර වූ ගව දෙන පෙර ලෙස පෙනුනත්, හම මසට සම්බන්ධ නොවී තිබෙන සේ ඇස, රූප... ආදිය තිබුනත්,**

**ඡන්ද රාගය නැත්නම් තණ්හා උපාදාන නැතිවන අයුරුත්, සියලු දුක් දුරු වන බවත් පෙන්වා අනුසාසනා කර ඇත.**

බුද්ධ නියමයෙන් ඊළඟ දිනද එසේම අනුසාසනා කර ඇත. මේ අනුසාසනාවට ඉතා ගෞරවයෙන් සවන් දුන් ඒ මෙහෙණිවරු හට අවබෝධය පුළුල් විය. බුදු පියාණන් වහන්සේ ඒ මෙහෙණිවරු සැම දෙනම මගඵල ලාභීන් බවත්, අඩුම අවබෝධය ලැබූ මෙහෙණියද සෝතාපන්න බවත් දේශනා කර ඇත.

## චූල රාහුලෝවාද සූත්‍රය - 574 පිටුව

බුදු පියාණන් වහන්සේ රාහුල හිමියන්ට කළ ත්‍රිලක්ෂණාවබෝධ දේශනාවකි. ඇස, රූපය, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සංඵස්සය, චක්ඛු සංඵස්සජා වේදනාව අනිච්ච වන හැටි, අනිච්ච නම් දුක් වන හැටි, අනිච්ච නම් දුක් නම් විපරිනාම ධර්ම නම් අනත්ත නම් ඒවා කෙරෙහි මමත්වය කිරීමට හෝ තමා සතු යැයි ගැනීමට හෝ සාර යැයි ගැනීමට හෝ නුසුදුසු බව වටහා දී දේශනා කරන විට රාහුල හිමි උපාදාන රහිතව අරිහත්වය ලැබිය. බොහෝ දේවතාවෝද සෝතාපන්න විය. විස්තර ඇත.

## ඡඡක්ක සූත්‍රය - 582 පිටුව

පාරිසුද්ධ බ්‍රහ්ම චරියාව ලෙස බුදු රජුන් ප්‍රකාශ කළ, දැනගත යුතු හයේ කොටස් හය - අධ්‍යාත්මික ආයතන 6 යි, බාහිර ආයතන 6 යි, විඤ්ඤාය කාය 6 යි, ස්පර්ශ කාය 6 යි, වේදනා කාය 6 යි, තණ්හා කාය 6 යි. මේ සියල්ලේ උප්පාදයත් (උපත), වැයත් (වැය වීම / වැහැරීම) පැනෙයි (පැනවෙයි). සිටියහුගේ විපරිනාමය පැනෙයි. ආත්ම හෝ ආත්මීය දෙයක් නැති බව මෙසේ දැකිය යුතුය.

## මහා සළායතනික සූත්‍රය - 594 පිටුව

ඇස, රූපය, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සංඵස්සය, චක්ඛු සංඵස්සජා වේදනාව කියන මේවා ඇති සැටියෙන් නොදකිමින් සං රාග කෙරෙයි. ඇලෙයි. සංරක්ත වැ (ඇලී) සංයුක්ත වැ (යෙදී) සංමුඩ වැ (මුලාවී) ආස්වාද දකිමින් විහරණ කරන්නහුට පංච උපාදානස්කන්ධයෝ උපචය වේ (වැඩීමට පත්වේ). නන්දිරාග (රාගයට සතුටු වීම) සහගත වූ පුනර්භවයට හේතු වන තෘෂ්ණාව වැඩේ. ඉහත කී සියලු අංග මෙසේ දැකිය යුතුය.

මේවා පිළිබඳව යථා භූතව දනිමින් දකිමින් වාසය කරන විට ඒවායේ නොඇලේ. අසංරක්ත වැ (නොඇලී), අසංයුක්ත වැ (නොයෙදී), අසංමුඩ වැ (මුලා නොවී) ආදීනව දකිමින් වාසය කරන විට පංච උපාදානස්කන්ධයෝ අපචයට යති (වැඩීමට පත් නොවේ). නන්දිරාග සහගත වූ පුනර්භවය ඇති කරන තණ්හාව ප්‍රහීණ වේ. පංචද්වාරික දරථයෝ (අරමුණුවලින් එන කෙළෙස් දාහය) ප්‍රහීණ වෙති. මනෝද්වාරික දරථයෝද, පංචද්වාරික සන්තාපයෝද, මනෝද්වාරික සන්තාපයෝද, පංචද්වාරික මනෝද්වාරික පරිදාහයෝද් ප්‍රහීන වෙති. කාය චිත්ත සුඛයද විඳී.

මෙබඳු සම්මා දිට්ඨි ඇතියහුට සම්මා අට මග වැඩේ. එමහණහුගේ කාය කර්ම, වචී කර්ම, ආජීවය පිරිසිදු වේ. අරි අටඟි මග භාවනා ලෙස වැඩේ. සත්තිස් බෝධි පාක්ෂිකයෝ වැඩේ. සමථ විදර්ශනා යුගනද්ධව වැඩේ. පිරිසිඳ දැනගත යුත්ත, පහ කළ යුත්ත, ප්‍රත්‍යක්ෂ කළ යුත්ත, වැඩිය යුත්ත අභිඥාවෙන් පූර්ණය වේ. මේ චතුරාර්ය සත්‍යය මෙසේද වේ. පංච උපාදානස්කන්ධ පිරිසිඳ දැකිය යුතුයි. අවිද්‍යා තෘෂ්ණා පහ කළ යුතුයි. සමථ විදර්ශනා වැඩිය යුතුයි. විජ්ජා විමුක්ති ප්‍රත්‍යක්ෂ කළ යුතුයි.

## නගර වින්දෙය්‍ය සූත්‍රය - 602 පිටුව

බුදු රජුන් නගරවින්ද නම් ගමේදී හමුවන්න ආ විසාල පිරිසකට **ගරු කළ යුතු, වැඳිය යුතු, පිදිය යුතු මහණ බමුණන්ගේ ස්වභාවය විස්තර කර දී ඇත. ඇස, කන... ආදී ෂඩ් ඉන්ද්‍රිය ගෝචර වන රූප, ශබ්ද... ආදියෙහි පහවී නැති රාග, ද්වේශ, මෝහ ඇති, නොසන්සුන් සිතින් කයින් වචනයෙන් විසම කොට හැසිරේ නම්, ඒ මහණ බමුණන් වඳින්න පුදන්න ඇසුරු කරන්න සත්කාර කරන්න සුදුසු නැත. ඒවායින් මිදුන උතුමන් සුදුසුය.** විස්තර ඇත.

## පිණ්ඩපාත පාරිසුද්ධි සූත්‍රය - 608 පිටුව

බුදු පියාණන් වහන්සේ සැරියුත් හිමියන්ගේ ප්‍රබෝධ මුහුණ දැක, කෙබඳු විහරණයකින් වාසය කළේ දැයි ඇසූ විට, ශූන්‍යතා විහරණයෙන් බව ප්‍රකාශ කළ විට, ඒ මහා පුරුෂ විහරණ යැයි පවසා කළ දහම් විස්තරය මෙහි ඇත.

ගමට පිඬු පිණිස වඩින භික්ෂුව ආපසු විත් එහිදී ඇස, කන... ආදී ෂඩ් ඉන්ද්‍රිය ගෝචර වූ අරමුණක ඡන්ද, රාග, ද්වේශ, මෝහ වී දැයි බලා, එසේ වී නම් ඒවා දුරු කරගන්න වෑයම් කළ යුතුයි. නොවී නම් දිවා රෑ හික්මී විසිය යුතුයි. (ඒ ප්‍රීති ප්‍රමෝදයෙන් යුතුව) එසේම ප්‍රත්‍යවේක්ෂා කර බලන විට පංච කාම ගුණ අප්‍රහීණ නම් ප්‍රහාණයට උත්සාහ කළ යුතුයි. ප්‍රහීණ නම් ඒ ප්‍රීති ප්‍රමෝදයෙන් ගත කළ යුතුයි. පංච නීවරණද එසේමයි. පංච උපාදානස්කන්ධයෝද එසේමයි.

මේ ක්‍රමයටම සතර සතිපට්ඨානයෝ, සතර ඍද්ධිපාදයෝ, සතර සම්‍යක් ප්‍රධානයෝ ආදී සත්තිස් බෝධි පාක්ෂික ධර්ම ගැනද බැලිය යුතුයි. අරිහත්වයට එනතුරු මෙසේ පරිශෝධනය කළ යුතුයි. අතීත, අනාගත, වර්තමාන තුන් කල්හි භික්ෂූන් මෙසේම පිණ්ඩපාත පරිශෝධනය කෙරෙයි. විස්තර ඇත.

## ඉන්ද්‍රිය භාවනා සූත්‍රය - 616 පිටුව

පරාසරිය බ්‍රාහ්මණ ඉන්ද්‍රිය භාවනාව ඉගැන් වූ අයුරු උත්තර මානවක විසින් බුදු පියාණන්ට කී විට, ඒ ක්‍රමයට වැඩේ නම් ජාති අන්ධ, ජාති බදිරයන්ටත් (පටිසන්ධියෙන් අන්ධ, බිහිරි) භාවනාව වැඩෙන්න ඕනෑ නේදැයි ඇසූ විට උත්තර මානවක නිහඬවම බිම බලා සිටියේය. එවිට ආනන්ද හිමියන්ගේ ඇරයුමෙන් බුදුන් වහන්සේ ඉන්ද්‍රිය භාවනාව දේශනා කළ සේක.

ඉන්ද්‍රියන්ගෙන් අරමුණු එන විට මනාප අමනාප උපදින අයුරුත්, එවිට ඇලීම ගැටීම ඇතිවන හැටිත් විමසා බලා ඒ ආයතනත්, අරමුණුත්, විඤ්ඤාණත්, ඇති වූ වින්දනත්, ඇලීම් ගැටීම් ආදියත් සංඛත බව, පටිච්ච සමුප්පන්න බව, ක්ෂය ධර්ම - වැය ධර්ම බව සිතන විට ඇලීම් ගැටීම් දුරු වී විදර්ශනා උපේක්ෂාව සිටී.

**රූප පිළිබඳව ඇසිපිය ගහන තරම් මොහොතකද, ශබ්ද පිළිබඳව අසුරු සැනක් ගහන මොහොතකද, ගන්ධ පිළිබඳව මඳක් ඇල කළ පියුම් පතෙහි ජලය ලිස්සා යන තරම් මොහොතකද, රසය පිළිබඳව කෙළ පිඩක් ගහන තරම් මොහොතකද, ස්පර්ශය පිළිබඳව හැකිලූ අතක් දිග හරින තරම් මොහොතකද, මනෝ අරමුණක් නම් රත් කළ යකඩයකට දිය බිඳු 2 - 3 ක් දමා වියළී යන තරම් මොහොතකද ඇලීම් ගැටීම් දුරු වී විදර්ශනා උපේක්ෂාව නැගී සිටී නම් ඒ වැඩුන ඉන්ද්‍රිය භාවනාවයි.** සේක ප්‍රතිපත්තිය (හික්මෙන ප්‍රතිපත්තිය) නම් ඇලීම ගැටීම එන විට දුකට ඇවිත් ලජ්ජා වේ, ජුගුප්සා වේ, යළි යළි සිහි කරමින් වඩයි. මේ පිළිබඳ විස්තර ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ

## කර්ම විපාකවල භයානකත්වය කියාපාන තවත් කතා පුවතක්...

**XX**



**වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ**

### අභයරතනාලංකාරය - 91

යම් කිසි කෙනෙක් උප්පත්තියෙන්ම ආබාධිත වුනොත්, විශේෂයෙන් ජාති අන්ධ, ජාති හදිර කියන උපතින්ම ඇස් අන්ධ, කන් ඇහෙන්නෙ නැති, ඒ වගේම කතා කරන්න බැරි, යම් කිසි ආකාරයක මන්ද බුද්ධික බවක් සහිතව ඉපදුනොත් ඒ පවුලේ අනෙක් සාමාජිකයන්ට, නෑදෑ හිතවතුන්ට ඇති වන මානසික පීඩනය ගැන අමුතුවෙන් කියන්න ඕන නෑ. විශේෂයෙන් ඒ වගේ දරුවන්ගෙ දෙමව්පියන්ට ඇති වන අසහනය ඉතා විසාලයි. සමාජයට මුහුණ දෙන හැටි, උගන්වන හැටි... මේ ආදී දහසකුත් ප්‍රශ්නවලින් එන දාහය, අසහනය කියල නිම කරන්න බෑ. විශේෂයෙන් කර්ම විපාක තේරුම් නොගත්ත, බුදු දහම ගැන මූලික අවබෝධයක් නැති අයට ඒ පීඩනය ඉතා වැඩියි. ඒ ගැන අවබෝධයක් තියෙන අයට නම් දහමට අනුව හිත හදාගෙන, මතු ඒ වගේ තත්වයක් උදා නොවෙන තැනට සාසනික වශයෙන් ප්‍රතිකර්ම කරගන්න අවස්ථාවක් තිබුනත්, සමාජයේ බහුතරයක් එසේ නොවන නිසා මුළු ජීවිත කාලයේම ඔවුන්ට මානසික වශයෙන් පීඩා විඳින්න සිද්ධ වෙනවා. කර්ම විපාකවල ප්‍රබලත්වය අනුව ඒ තත්වයත් ඒ ඒ පුද්ගලයන් අනුව අඩු වැඩි වෙන්න පුළුවන්.

ඒ වගේම හුදෙක් භෞතිකත්වය තුලම ඉඳගෙන වෛද්‍ය විද්‍යාව පැත්තෙන් විතරක් සහනය හොයන්න යන අයට මේ තත්වය තේරුම් ගන්න බැරි නිසා ජීවිතාන්තය දක්වාම අඳුරේ අතපත ගෑමක් තමයි සිද්ධ වෙන්නෙ. වාසනාවකට අපේ රටේ නිර්මල බුදු දහම නැවත ඉස්මතු වෙලා තිබුනත්, මේ වෙනකොට අර්ථ යටපත් වෙලා නමට සීමා වෙච්ච බුදු දහමක් පැවතීම හේතුවෙන් බුදු දහමෙන් ගන්න පුළුවන් ඉතා විසාල ප්‍රතිකර්ම කොටසක් අවාසනාවකට ගිලිහිලා ගිහින් තියෙනවා. නමුත් මෑත කාලයේ පහල වුන වහරක අභයරතනාලංකාර වගේ උත්තමයන් වහන්සේලා, ඒ පෙර පැවති තත්වය නැවත මතු කරල දුන්නත්, තවමත් බොහෝ පිරිසක් අතරට ඒ සාසනික ප්‍රතිකර්ම දැනගන්න නොලැබීම හේතුවෙන් මහා වාසනාවක් ලබන්න පුළුවන් අවස්ථාව ගිලිහිලා තියෙනවා. කොහොම නමුත් සමාජයේ බොහෝ පිරිසකගේ හිතසුව පිණිස වැදගත් වන, ඇස් ඇරවන ඒ වගේ කතා පුවතක් තමයි මේ හෙළිදරව් කරන්නෙ.

කර්ම විපාකවල තියෙන භයානකත්වය කියාපාන කතා පුවත් රාශියක් මේ සඟරාවෙ මීට පෙරත් ත්‍රිපිටක පෙළ දහමේ එන සාක්ෂිත් සමග ඉදිරිපත් කරල තියෙනවා. ඒ වගේම වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි කල පටන්ම ප්‍රායෝගිකව අත්දැකපු ඒ වගේ භයානක කතා පුවත් ගණනාවක් ධර්මානුකූල හේතුත් සමගින් සාක්ෂි සහිතව ඉදිරිපත් කරල තියෙනවා. “කරන කලට පව් මිහිරිය මී සේ - විඳින කලට දුක් දැඩි වෙයි ගිනි සේ” (ලෝවැඩ සඟරාව), මාප්ප මඤ්ඤේථ පාපස්ස - න මං තං ආගමිස්සති - උද බිංදු නිපාතේන - උදකුම්භෝපි පූරති - පූරති බාලෝ පාපස්ස - ථෝක ථෝකම්පි ආචිනං (ධම්ම පදය - පාප වග්ගය) - **පාප විපාකය තමා කරා එන්නෙ නෑ කියල සුළු කොට නොසිතිය යුතුයි. දිය බිංදු ටික ටික එකතු වෙලා කලයක් පිරෙන්නා සේ අනුවණ අය කරන පව් ටික ටික එකතු වෙලා විසාල පාපයක් බවට පත් වෙලා පවෙන් පිරෙනවා. ඒ නිසා “පාපය සුළු නෑ. දුටු තැන වනසා දමන්න”** කියන මේ දහම් අවවාද නැවත නැවතත් පසක් කරමින්, මේ සංසාරයේ සහ අකුසල් කර්ම විපාකවල තියෙන භයානකත්වය අබමල් රේණුවකින් හරි තේරුම් ගන්න පුළුවන් හේතු වාසනා තියෙන පින්වතුන් උදෙසා තමයි මේ කතා පුවතත් ඉදිරිපත් කරන්නෙ.

ඒ භයානකත්වය ඒ විදිහට තේරුම් අරගෙන කටයුතු කරන ගමන්, **මේ කතා පුවත තුලින් හෙළිදරව් වන යම් යම් සාසනික ප්‍රතිකර්ම, බෙත් හේත්, ප්‍රයෝග සම්පත්ති... ආදිය අත්හදා බැලීමෙන් තම තමන්ගෙ ජීවිතවලට ආලෝකයක් අභිවෘද්ධියක් උදා කරගන්නත් පුළුවන්. මෙලොව, පරලොව, නිවන කියන තුන් අභිවෘද්ධියටම උපනිශ්‍රය සම්පත් ගෙන දෙන මේ වගේ සාසනික ප්‍රතිකර්ම කවදාවත් ගඟට කැපුව ඉනි වගේ වෙන්නෙ නෑ.** නිවන් දක්නා ජාති දක්වා කවදහරි තමන්ට සහනයක් ගෙන දෙනවා, එන්න තියෙන කරදර බාධක මග හැරෙනවා. ඒ නිසා තම තමන්ට ඉඩ තියෙන විදිහට පුළුවන් හැම අවස්ථාවකම මේ හැම ප්‍රතිකර්මයක්ම අත්හදා බලල අත්දැකීම් ලබාගෙන මේ භයංකාර සසරින් එතෙර වෙන්න අදිටන් කරගන්න.

ඒ වගේම මේ ලෝකයේ සත්‍යය යථාර්ථය දත් දිවැසිවරුන්, ගුණ වැඩූ ශ්‍රමණ බමුණන් වගේ උත්තම පිරිස් තවමත් ඉන්නවා කියන කාරණයත් මේ ලිපියේ එන විස්මිත ප්‍රතිකාර, බෙත් හේත් ආදිය මගින් තහවුරු වෙනවා.

මීට පෙර හෙළ බොදු පියුම 75 වන කලාපයේ “ප්‍රබල ස්නායු රෝග සඳහා අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කළ බලවත් ඖෂධ වට්ටෝරු රැසක්” නමින් ලිපියක් පළ කළා. අන්න ඒ සිද්ධියට සම්බන්ධ සමෘද්ධි තිලකසිරි දරුවාගේ පවුලේ දෙමව්පියන් අවුරුදු 22 ක පමණ කාලයක් තුල උන්වහන්සේව ගිහි වතක පටන් ඇසුරු කරල ලබා ගත්ත, මේ වගේ රෝගවල කර්ම විපාක සම්බන්ධය සහ සසර භයානකත්වය කියාපාන අත්දැකීම් ඉදිරියේදි අභයරතනාලංකාරය යටතේ ඉදිරිපත් කරන බවටත් එදා සඳහන් කළා. ලෝකයාට යහපතක් වේවා කියන අදහසින් දැන් මේ

ඉදිරිපත් කරන්නෙ ඒ දෙමව්පියන්, උප්පත්තියෙන්ම තමන්ගෙ ආබාධිත දරුවාට බෙත් හේත්, ප්‍රතිකර්ම කරගන්න ගිහින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව ගිහි වතක සිටියදී මුණ ගැහුනදා පටන් ලබපු අත්දැකීම්වලින් බිඳක්. මොරටුව විශ්වවිද්‍යාලයෙන් ඉංජිනේරු තාක්ෂණවේදී (NDT) පාඨමාලාව හදාරල, රජයෙත් පෞද්ගලික අංශයෙත් වැදගත් රැකියාවල නිරත වෙන ගමන්, තමන්ගෙ ආබාධිත දරුවට ප්‍රතිකර්ම කරගන්න ගිහින්, අවසානයේ තමන් නොහිතපු විදිහට මේ දහමට සම්බන්ධ වෙලා ජීවිතයේ යථාවබෝධය ලබාගෙන, තමන්ගෙ ජීවිතය උඩු යටිකුරු කළ ඒ කතා පුවත ඔවුන් මේ විදිහට හෙළිදරව් කළා. ඒ තමයි ගම්පහ, බැලුම්මහර පදිංචි සුනිල් රංජිත් තිලකසිරි මහතා සහ පුෂ්පකාන්ති ඉන්ද්‍රලතා මහත්මිය.

අපිට ඇත්තටම මුල් කාලෙ ආගම දහම ගැන ඒ තරම් විශ්වාසයක් තිබුනෙ නෑ. සාමාන්‍යයෙන් කරන බෝධි පූජා වගේ දේවල් කළා මිසක් මේ වගේ දහමක් ගැන කිසිම අවබෝධයක් තිබුනෙ නෑ. විවිධ ලෞකික දේවල් තමයි කළේ. සල්ලි හම්බ කරල හොඳින් සුඛෝපභෝගී ජීවිතයක් ගත කරන්න බලාපොරොත්තුවෙන් තමයි කටයුතු කළේ. අපි කරපු රැකි රක්ෂා අනුව ඒ මුදල් හදල් හම්බ කරන ජීවත් හොඳින් කළා. යාන වාහන, දේපළ කිසි අඩුවක් තිබුනෙත් නෑ. විවාහ වෙලා දරුවො නැතිව අපි අවුරුදු 5 ක් හිටියා. පස්සෙ සාස්තරයක් අහන්න ගිහින් භාරයක් වෙන්න කිව්ව නිසා, අන්තිමට නවගමුවෙ පත්තිනි දේවාලයට භාරයක් වුනාට පස්සෙ තමයි ලොකු පුතා ලැබුනෙ. ඊට පස්සෙ තමයි මේ ආබාධිත දෙවෙනි දරුවා ලැබුනෙ. ඔහුගෙ ස්නායු උපතින්ම ගොඩක් දුර්වලයි. දරුව හම්බ වෙන්න ගිහින් පැය 12 ක් වතුර බෑගය කැඩිල හිර වෙලා හිටියා. ඒ වෙලාවෙ මොළයට ඔක්සිජන් මදි වෙලා ස්නායු අඩපණ වෙලා තිබුන කියල තමයි වෛද්‍යවරුන්ගෙන් දැනගන්න ලැබුනෙ.

ඉතින් මේ වගේ අවස්ථාවක වෛද්‍ය විද්‍යාව පැත්තෙන් කරන්න පුළුවන් හැම දෙයක්ම අපි කළා. දරුවව විශේෂඥ වෛද්‍යවරු ළඟටත් ගෙනිච්චා. මුලදී වෛද්‍යවරු කිව්වා දරුවා අධි ක්‍රියාශීලී කෙනෙක්, ඒ නිසා බෙහෙත් දෙන්න ඕන කියල. නමුත් ඒ දුන්නට හරි ගියේ නෑ. උප්පත්තියෙන්ම ස්නායු දුර්වල ළමයෙක්, ලොකු වෙනකොට සමහරවිට හරියන්න පුළුවන් කියලත් කිව්වා. හැබැයි වැඩිය බොන්න බෙත් දුන්නෙ නෑ. භෞත චිකිත්සක ප්‍රතිකාර තමයි හුඟක් කළේ. දිවට, කනට ව්‍යායාම ආදිය කළා. ඒවා අධ්‍යාපන පාඩම් වගේ තමයි කළේ. කාලයක් යද්දි දරුවා අධි ක්‍රියාශීලි කෙනෙක් කියල ඒ අය ඒකට යම් කිසි පරීක්ෂණයකුත් කළා. නූලකට ඉඳිකටුවක් දාල මල් අමුණන්න දුන්නා. එතකොට ඇස් දෙකයි, අත් දෙකයි, මොළයයි ඉන්ද්‍රියන් තුනම වැඩ කරන්න ඕන. ඉතින් දරුව ඒකත් හරියට කළා. ඊළඟට කට පුංචි කුප්පියකට ඔළිඳ ඇට දාන්න දුන්නා. එතැනදිත් අර ඉන්ද්‍රියන් තුනම ක්‍රියාත්මකයි. ඒකත් කළා. නමුත් තදබල අධි ක්‍රියාකාරීත්වයක් තියෙන කෙනෙකුට එහෙම සංයමයෙන් ඉවසීමෙන් වැඩක් කරන්න බැරිලු. හරිම කලබලයිලු. අන්තිමට ඔටිසම් කියල තමයි වෛද්‍යවරු කිව්වෙ.

කොහොමහරි දරුවට අවුරුදු දෙකහමාරක් තුනක් වගේ කාලයක් යනකොට තමයි තවත් හිතවතෙක් මගින් දැනගෙන වහරක හාමුදුරුවො මුණ ගැහුනෙ. එතකොට උන්වහන්සේ මහණ වෙලා නෑ. අබේරත්න උපාසක මහත්තය කියල තමයි කිව්වෙ. අබේරත්න මහත්තය මුණ ගැහුනට පස්සෙ අපි දරුවට බෙහෙත් ගන්න වෛද්‍යවරු ළඟට ගියේ නෑ. ඊට පස්සෙ ගියේ දරුවගෙ අධ්‍යාපන කටයුතුවලට විතරයි.

ඒ කාලෙ අබේරත්න මහත්තය දින වෙන් කරල සමාධියෙන් විවිධ ලෙඩ රෝග, ගෙවල්වල දෝස... ආදිය බලනවා. එහෙම ගියපු දවසක තමයි සමාධියෙන් බලල මේ දරුවගෙ පෙර අත්බැව් එක්ක විස්තරය කිව්වෙ. මේක මේ අද ඊයෙ කරපු දෙයක් නෙවෙයි නෝන මහත්තයා, සසරෙ කරපු දෙයක් විපාක විදිහට ඇවිත් තියෙන්නෙ, මේ පාප කර්මය ගෙවෙන්න බෙහෙත් කරන්න පෙර බිත්තර කෑම නවත්වන්න කිව්වා. මොකද පොඩි ළමයින්ට දෙන්න හොඳයි කියන නිසා ඒ දවස්වල අපි ගෙදර නිතරම බිත්තර කඩල, තම්බල ළමයින්ට දෙනවා. ඉතින් අබේරත්න මහත්තයට අපි ඒ කාරණය කිව්වෙත් නැතිව, අපි බිත්තර කනව කියල සමාධියෙන් දැකලම තමයි බිත්තර කෑම නවත්වන්න කිව්වෙ. අපි කිව්ව ඉතින් අපි කන්නෙ ෆාම් බිත්තරනෙ කියල. එතකොට, **ෆාම් බිත්තරයේ වුනත් ජීවයක් තියෙනවා, දැන් මේ තියෙන හැම බිත්තරයකම ජීවයක් තියෙනවා කියල මහත්තය අපිට ඒ ගැන ලොකු විස්තරයක් කිව්වා. ඒ සියල්ල කියල දීල ඒකෙ තියෙන පාපය පෙන්වල තමයි බිත්තර කන එක නවත්වන්න කිව්වෙ.**

ඉතින් අපි තවදුරටත් බිත්තර කඩාගෙන කාල ඒ පාපයේම ඇලිල හිටියොත් දරුවට ඉදිරියට ප්‍රතිකාර කරගෙන යන්න අමාරුයි කිව්වා. මොකද එක්තරා පෙර අත්බවයක මේ දරුවා කුරුළු කූඩු කඩල බිත්තර අරගෙන නගරයට ගිහින් විකුණල තියෙනවා. සත්තු දඩයම් කරල විකුණල තියෙනවා. අපි නිකං ගෝත්‍රික පවුලක් විදිහට තමයි ඉඳල තියෙන්නෙ. දැන් ඉන්න අපේ පවුලෙ හතර දෙනාම ඒ කාලෙත් එකට ඉඳල තියෙනවා. දැන් එතකොට මේ දරුවා එදා සත්තු දඩයම් කරල ඒ ගේන මස් එදත් අම්ම විදිහට හිටපු මම රසට උයල දීල තියෙනවා. අන්න ඒ වගේ **සත්තු මරාගෙන, බිත්තර විකුණල ජීවත් වෙච්ච ගෝත්‍රික පවුලක ඉඳගෙන ඒ කරපු කර්ම විපාක තමයි මේ ඇවිත් තියෙන්නෙ කිව්වා.** ඉතින් අබේරත්න මහත්තය මේ විස්තරය කිව්වට පස්සෙ තමයි අපි ගෙදරට බිත්තර ගේන එක සම්පූර්ණයෙන්ම නැවැත්තුවෙ.

ඊට පස්සෙ අබේරත්න මහත්තය මහණ වුනාට පස්සෙ දවසකදි සමාධියෙන් බලල කිව්වා, **කුරුළු කූඩු කඩල බිත්තර විකුණපු පවට වන්දි ගෙවන්න සසුනට යමක් පූජා කරන්න කියල.** ආර්ය මාර්ගය පූර්ණ කරගෙන යන කෙනෙකුට භාවනා කුටියක් හදල දීමත් වැදගත් කියල කිව්වා. ඉතින් අපි මුලින් විවිධ දේවල් සාසනයට පූජා කරල අන්තිමට භාවනා කුටියක් හදල දරුවගෙ නම සඳහන් කරල සාසනයට පූජා කළා.

හැබැයි මේ කියපු අත්බැවට තවත් අත්බැව් ගණනාවකට පස්සෙ නැවතත් අපි හතර දෙනාම මුණගැහිල පවුලක් විදිහට එකට ජීවත් වෙලා තියෙනව කියලත් අබේරත්න මහත්තය කිව්වා. එතැනදි අපි ගොවිතැන් බත් කරගෙන බොහොම සාමකාමී දැහැමි ජීවිතයක් ගත කරල තියෙනවා. බුදුන් ප්‍රමුඛ මහා සංඝයාට විවිධ දාන මාන දීල මිනිස්සුන්ට උදව් උපකාර කරගෙන පාරවල් හදල දීල ඒ වගේ පිං දහම් කරගෙන තියෙනවා. එදා ගොවිතැන් බත් කරපු පුරුදු අදත් මේ ළමයින් දෙන්නගෙ ජීවිතේට ඇවිත් තියෙනවා. මොකද මේ අය බොහොම පොඩි කාලෙ ඉඳන්ම කුඹුරුවල තියෙන මඩත් එක්කමයි

හිටියෙ. කොයි වෙලේ බැලුවත් මඩේ නටනවා. අබේරත්න උපාසක මහත්තය කිව්වා, ඒවා නවත්වන්න එපා, මේ අය කුඹුරුවලම හිටපු අය, ඕන නම් මේ අය මඩත් කයි, ඒ තරම් මඩට ආසයි, පුළුවන් නම් පොකුණක් හදල මානෙල් මල් පැළයක් හිටවල ඒ අයට සෙල්ලම් කරන්න දෙන්න කියල.

ඒ වගේම මේ අසනීප දරුවා තවත් අත්භවයක **උතුමන්ට / උගතුන්ට නිගා කරල තියෙනව කියලත්** අබේරත්න උපාසක මහත්තය උදාහරණවලින් කිව්වා. දැන් ඔය පේන්නෙ නැත්ද, ළමයි විදුහල්පතිතුමාට පිනා කියල කියනවා. ඒ වගේම හොඳට ඉගෙන ගත්ත මහාචාර්යතුමෙකුට බූරුවා කියල කියනවා. ඒ මනුස්සය එතැනට එන්නෙ ජීවිත කාලෙම ගොඩක් කැප කරල. පැත්තකින් ඉන්න කෙනෙක් බූරුවෙක් කියල බනිනවා. අන්න ඒ වගේ වචන මේ පුතා පෙර අත්බැව්වල කියල තියෙනවා. **ඊටත් වඩා භයානකම දේ තමයි, රහතන් වහන්සේ නමකටත් අපවාද කරල තියෙනවා. එක අත්බවයක මේ පුතත් මහණ වෙලා පන්සලක ඉඳල තියෙනවා. එතකොට ඒ පන්සලේ වැඩ හිටපු රහතන් වහන්සේ නමකගෙන් මොකක් හරි ප්‍රශ්නයක් අහල තියෙනවා. උන්වහන්සේ උත්තර දීල නෑ. පස්සෙ නැවතත් ප්‍රශ්නය අහල තියෙනවා. ඒත් උත්තර නැති තැන, ඇයි මං අහපු ප්‍රශ්නයට උත්තර දෙන්නෙ නැත්තෙ ඔබවහන්සේ ගොළු කියල අහල තියෙනවා. ඉතිං හේතුවට අනුකූල ඵලයක් විදිහට, මේ දරුවාට එක්තරා ආකාරයකට ස්නායු දුර්වලතාවයක් ඇවිත් කතා කරන්න බැරිව ඉපදෙන්න ඒ විපාකයත් බලපාල තියෙනව කියල අබේරත්න මහත්තය සමාධියෙන් බලල කිව්වා.**

ඔහොම ගිහින් තමයි මේ අත්බවයේ නැවතත් අපි හතර දෙනාම මුණගැහිල තියෙන්නෙ. එතකොට අර පෙර අත්බැව්වල කරපු පව් විපාකයි, ගොවිතැන් බත් කරල දානමාන ආදිය දීල කරපු පින් විපාකයි දෙකම එකතු වෙලා ඒ සියල්ලේම සංකලනයක් තමයි මේ අත්බවයේ ඇවිත් තියෙන්නෙ කියල කිව්වා. මොකද මේ ජීවිතයේ ලැබෙන්න තියෙන ලෞකික සැප සම්පත් හැමදේමත් අපිට ලැබුනා. ඒත් මේ දරුවා ආබාධිත වෙලා අනෙක් පැත්තෙන් මානසිකව විඳවන්න සිද්ධ වුනා. එතකොට පුතා තනියෙන් කරගත්ත විපාකත්, අපි එකතු වෙලා කරපු විපාකත් තියෙනවා. අපිත් ඒ සමහර



කුටි පූජාව සිදුකළ දා

ඒවාට මුක්කු ගහපු නිසා පවුලක් විදිහට එකට ඇවිත් අපිටත් ඒවා අද විඳවන්න සිද්ධ වෙලා තියෙනව කියල අබේරත්න මහත්තය පැහැදිලි කරල දුන්නා. සමහර අවස්ථාවලදි ලොකු පුතා නැතිව මේ අසනීප දරුවත් එක්ක අපි තුන් දෙනා විතරක් ඉඳෙද්දි වාහනය අනතුරට පත් වෙච්ච අවස්ථා තියෙනවා. ඔය විදිහට කීප වාරයක්ම වුනා. එතකොට අපි අබේරත්න උපාසක මහත්තයට ගිහින් ඒ ගැන කිව්වා. නෝන මහත්තය ඒක කාලෙකට විතරයි, ලොකු ලොකු අනතුරු ඔයගොල්ලන්ට වෙන්නෙ නෑ, හැබැයි මේ දවස්වල පරිස්සම් වෙන්න, මොකද ඔය තුන් දෙනා එකතු වෙලා කරපු විපාක ටිකක් මේ දවස්වල පටිසන් දෙනව කියල සමාධියෙන් බලල කිව්වා.

අපි ගිහින් අබේරත්න මහත්තයට බුලත් අතක් දීල ඉඳගත්තම මහත්තය ඇස් දෙක පියාගෙන සමාධියෙන් සම්පූර්ණ විස්තරයම බලල කියනවා. මේ දරුවට දීපු බෙත් සියල්ලම කිව්වෙත් ඒ විදිහට. තුණ්ඩු කොළය අතට අරගෙන, තුනුරුවන් බලයෙන් මේ දරුවාට අවශ්‍ය බෙත් පෙන්නුම් කරාවා කියල කියනවා. ඔය විදිහට බෙත් වර්ග 4 ක් විතර කිව්වට පස්සෙ ඇස් ඇරල ඒ ටික කොළයක ලියනවා. නැවතත් ඇස් පියාගෙන තව ටිකක් බලල ඇස් ඇරල ඒ ටිකත් ලියනවා. අපි දවසක් ඇහුවා, කොහොමද ඔබතුමා මෙහෙම බලල ලියන්නෙ කියල. එතකොට සමාධියට පෙන්වනව කියල ඒ ගැන මේ විදිහට විස්තරයක් කළා. දැන් පොල්පලා ගහක් නම් පොල්පලා ගහක් පෙන්වල, බෙතට ඒකෙ මුල ගන්න ඕන නම් මුල කොටස විතරක් තද පාට කරල පෙන්වනවලු. කොළ ගන්න ඕන නම් කොළ විතරක් තද පාට කරල ඉතිරි ටික සාමාන්‍ය විදිහට පෙන්වනවලු. ඒ වගේම වේළිච්ච අමුද්‍රව්‍ය අවශ්‍ය නම් වේළිච්ච ගහක් පෙන්වනවලු. අමුවෙන් ගන්න අවශ්‍ය නම් අමු ගහක් පෙන්වනවලු. ඔය විදිහට බෙත් හදාගන්න ඕන ක්‍රමයත් සමාධියෙන්ම සම්පූර්ණයෙන්ම පෙන්වනවලු. කොටන්න ඕන, කොටල ඉස්ම ගන්න ඕන, ලිප උඩින් තියන්න ඕන... ආදී වශයෙන් ඒ සියල්ල දර්ශනයට පේනවලු.

ඉතින් ඔය වගේ, **කෙනෙක්ගෙ ශරීරය ඇතුල වුනත් සම්පූර්ණයෙන්ම සමාධියෙන් බලන්න පුළුවන් හැකියාවක් අබේරත්න මහත්තයට තිබුනා. හරියට ස්කෑන් කළා වගේ. ඇඟ ඇතුලෙ තියෙන රෝග, ඒවා තියෙන තැන් කෙස් ගහටම කියනවා.** ඒ දවස්වල අපේ මහත්තයට හැම වෙලාවෙම උණ හැදෙනවා. එතකොට ප්‍රතිජීවක (Antibiotics) බෙහෙත් ගන්නවා. ඒත් ටික දවසකින් නැවතත් හැදෙනවා. ඔය විදිහට අවුරුද්දක් විතර ගියා. අපි හිතුවෙ සෙමට වෙන්න ඇති කියල. දවසක් අබේරත්න මහත්තයට ඒ ගැන කිව්වම සමාධියෙන් බලල කිව්වා, මොනවහරි රසායනයක් ශරීරයට ඇතුල් වෙලා ඒ වටා සෙම බැඳිල පෙණහැල්ලෙ කොනක සුදු පාට ගුලියක් වගේ බැඳිල තියෙන්නෙ, ඒකට නිතරම විසබීජ ඇතුල් වෙනකොට තමයි උණ හැදෙන්නෙ කියල. මොකද මහත්තය ඒ දවස්වල සපත්තු කර්මාන්ත ශාලාවක රසායන අංශයේ තමයි වැඩ කළේ.

**ඉතින් වට්ටක්කා දළු කිලෝ 1 ක් කොටාගෙන වතුර නොදා ඉස්ම අරගෙන, ඒකට තල් සූකිරි ග්‍රෑම් 200 ක් දාල ලිපේ තියල කකාරවල පැණි කරල, දවසට 3 වතාවක් කෑමට පසු තේ හැන්ද බැගින් ගන්න කිව්වා.** 3 වතාවක් අරගත්තට පස්සෙ නැවතත් සමාධියෙන් බලල කිව්වා, මහත්තය දැන් ඒක දිය වෙලා තව සව් ඇටයක් වගේ චුට්ටක් තියෙනවා, ඒකත් ඉවර වෙන්නම තව සැරයක් ගන්න

කියල. ඊට පස්සෙ ඒ වතාවත් ගත්තට පස්සෙ සම්පූර්ණයෙන්ම හොඳ වුනා.

ඒ වගේම අපේ ලොකු පුතාටත් ඒ කාලෙ නිතරම වගේ සැරින් සැරේ උණ හැදෙනවා. එතකොට අපි ප්‍රතිජීවක බෙහෙත් (antibiotics) දෙනවා. ඒත් හොඳ වෙලා ටික දවසකින් නැවතත් හැදෙනවා. අපි ඉතින් ඒකත් අබේරත්න මහත්තයට ගිහින් කිව්වම එතුමා සමාධියෙන් යොමු කරල බලල කිව්වා, උගුරෙ සෙම් ගෙඩි 2 ක් තියෙනවා, ඒ දෙකේ කොස්ස තමයි තියෙන්නෙ, බෙහෙත් බොනකොට යට ගිහින් නැවතත් උඩට එනව කියල. ඒ දෙකත් සම්පූර්ණයෙන්ම දිය වෙලා යන්න කියල සමාධියෙන් බලල බේතක් දුන්නා. ඒක දුන්නම සම්පූර්ණයෙන්ම සනීප වුනා. ඊට පස්සෙ අබේරත්න මහත්තය යොමු කරල බලල කිව්වා, දැන් ගෙඩියක් නෑ සියල්ල දිය වෙලා ගිහින් කියල. ඉතින් මම ඒ බේත ඒ කාලෙ තවත් ඒ වගේ රෝගීන් තිස් ගණනකට දීල ඒ අයටත් හොඳ වුනා. (මේ කියන බෙහෙත් වට්ටෝරුව 76 කලාපයේ සමාධිමය අත් බෙහෙත් යටතේ පළ කරල තියෙනවා.)

ඉතින් අපේ අසනීප දරුවා සම්බන්ධයෙන් සැහෙන වෙලාවක් සමාධියෙන් යොමු කරල බලල කිව්වා, නෝන මහත්තයෝ මව් කුසින් ඉපදෙනකොටමයි මේ දරුවගෙ ස්නායුවලට හුඟක් හානි වෙලා තියෙන්නෙ, හිරවීමක් තියෙනවා, දැන් ස්නායු ටික ටික මැරීගෙන යන්නෙ කියල. මව් කුසට ඇතුල් වෙන්න කලින් අත්බැව්වල කරපු දේක විපාකයක් එක්කයි ඇවිත් තියෙන්නෙ, ඒ විපාකයේ තියෙන බරපතලකමට තමයි දරුව ලැබෙන්න ගිහින් හිරවීමක් සිද්ධ වෙලා තියෙන්නෙ කියල කිව්වා. ඒ වගේම **දරුවා මව් කුසට ඔක්කන්ති වෙලා තියෙන්නෙත් සෙනසුරු ඊරාෂ්ටකයෙදි. මමත් ඒ වෙලාවෙ සෙනසුරු ඊරාෂ්ටකයෙ තමයි ඉඳල තියෙන්නෙ. මොකද අපි දෙන්නම එකම ලග්නයේ. ඒ නිසා මුලින් සෙනසුරු පූජා, බෝධි පූජා ආදිය කරන්න කිව්වා.** එක ස්නායුවක් උඩ තව ස්නායුවක් වැටිල ඒ වටා සෙම බැඳිල තියෙන්නෙ, හිස කුඩිච්චි දාල ඒ සෙම ඉවත් කරන්න පුළුවන් කිව්වා. ඒ හිස කුඩිච්චි දානකොට සෙමත් එක්ක ලේ වගේ යයි, ඒකට බයවෙන්න එපා ගැලවි ගැලවි යයි කිව්වා. **හැබැයි කර්ම විපාක බලවත් නිසා නිට්ටාවට හොඳ කරන්න බෑ කියලත් කිව්වා.**

ඉතින් හිසකුඩිච්චි දැම්මෙ දවස් 2 යි, දරුවා දුව දුව ඉන්නකොට පොල් කොටයක් උඩට වැටිල ඔලුව තැලුනා. එතකොට අපි අබේරත්න මහත්තයට ගිහින් කිව්වම, මේ වැඩේ හරියන්නෙ නෑ, කර්ම වේගය බරපතල වැඩියි, ඒ නිසා බෙහෙත් කරන්න බැරි වෙයි, බුද්ධ බල (නව ගුණ) යන්තරයක් දාමු කිව්වා. හරියටම දරුවගෙ නැකතට, පක්ෂියා රජ වෙන වෙලාව බලල තමයි කිව්වා යන්තරය හදන්න පටන් ගන්න ඕන. අබේරත්න මහත්තයම රත්රන් තහඩුවක යන්තරය ඇඳල බුදු ගුණ බලෙන් සෙත් කරල යන්තරය දරුවට පැළැන්දෙව්වා. ඊට පස්සෙ තමයි අර බේත් ටික නැවත පටන් ගත්තෙ.

ඉතින් අපි අබේරත්න මහත්තය කියපු විදිහට ඒ වත්පිළිවෙත්, බේත් හේත් කළා. ඊට පස්සෙ තමයි මේ ළමය දුවන එක නැවතුනේ. මොකද මේ ළමයා පොඩි කාලෙ අවුරුදු තුනේ ඉඳන්ම, අපි ළඟ නැති වෙලාවට එක තැනක ඉන්නෙ නෑ, කොහේ හරි දුවනවා, අපි වැසිකිළියට ගියත් ඒ ඩිංගට හිටපු ගමන් දුවනවා. දුවල ගිහින් පහල ළිඳ වටේ කැරකෙනවා. එහෙම නැත්නම් පාරවල් දිගේ දුවනවා. බයිසිකල් එකේ නැගල පාරෙ යනවා. අපි ඉතින් හැම තැනම හොයනවා. අන්තිමට මුළු ගමේම හැම තැනම හොයන්න ඕන. ඉතින් ගමේ මිනිස්සුත් එකතු වෙලා හොයනවා. ඒ නිසා අපි මොකද කළේ, අපි ළඟ නැති වෙලාවට කකුලෙ පටියක් ගැට ගහල ඒක දම් වැලකින් බැඳල පුටු කකුලකට හරි මොකකට හරි ගැට ගහල සෙල්ලම් බඩු ටිකක් ළඟට දෙනවා. නිකම් පටියකින් බැන්දොත් කොහොම හරි කඩාගෙන දුවනවා. ඒ වගේ දිවිල්ලක් තමයි මුල් කාලෙ දිව්වෙ. අබේරත්න මහත්තයගෙ ප්‍රතිකර්මවලින් පස්සෙ තමයි ඒ තත්වය නැවතුනේ.

ඒ වගේම අවුරුදු හයේදි විතර පුතාගෙ එක කෝෂයක් ලොකුවට ඉදිමෙන්න ගත්තා. ඉස්පිරිතාලෙට ගිහින් පෙන්නුවම වෛද්‍යවරු කිව්වෙ, ලොකු ගෙඩියක් තියෙනවා සැත්කමක් කරල ඉවත් කරන්න ඕන කියල. එහෙම කියල මාස 3 කින් පස්සෙ එන්න කියල දිනයකුත් දුන්නා. අපි එතකොට අබේරත්න උපාසක මහත්තය මුණගැහිල තිබුනත්, එතුමාට මේකට ප්‍රතිකාරයක් කරන්න පුළුවන්ද කියල අපිට ඒ කාලෙ තේරුමක් තිබුනෙ නෑ. අපි ඉතින් තවත් සිංහල වෛද්‍යවරයෙක් ළඟට ගියාම කිව්වා, මේක කොහොමටවත් සැත්කමකින් කපල ඉවත් කරන්න එපා, ගෙඩි වෙදකම් කරන වෙද මහත්තයෙක් ළඟට ගෙනිහින් ඉවත් කරගන්න කියල. පස්සෙ අපි ඒකත් අබේරත්න මහත්තයට කිව්වා. එතුමා සමාධියෙන් යොමු කරල බලල කිව්වා, මොන්ටිසෝරි යන කාලෙ වතුර බිබී හිටපු ළමයෙක් කෝප්පෙ විසි කරල ඒක වැදිල තැලිල, දැන් එතැන තැල්මත් එක්ක සෙම එකතු වෙලා හැදිච්ච ගෙඩියක් තියෙන්නෙ කියල. ඒකට බේතක් දෙන්නම් කියල, **උදේට පිනි දිය එකතු කරල රත්හඳුන් කෑල්ලක් ඒ පිනි දියෙන් උරච්චි කරල උදේ, හවස දින 14 ක් ගාන්න කිව්වා. ඉතින් ඒක කළා විතරයි ඒ ගෙඩිය සම්පූර්ණයෙන්ම සුව වුනා.**

ඊට පස්සෙ අබේරත්න මහත්තය තව දවසක් සමාධියෙන් යොමු කරල බලල කිව්වා, අපි ඉන්න මේ ඉඩමෙ දැනට මියපරලොව ගිහින් ඉන්න මුල් පදිංචිකරුවොත් සැරයක් දෙකක් මේ ඉඩමට ගුප්ත ලෝකයේ ඉඳගෙන ඇවිත් ඇල්ම බැල්ම දාල යනවා, මානසිකව දුර්වල කෙනාට ඒකත් බලපානවා, ඒ නිසා ඒ අයටත් දානයක් දීල පින් දෙන්න කියල. රතු බත් දානයක් තමයි දෙන්න කිව්වෙ. ඒ කියන්නෙ සුදු බත් උයල ඒකට බීට් ගෙඩි 2 - 3 ක් තම්බපු වතුර එකතු කරල රතු බත් හදන්න කිව්වා. ඒක ගෙනත් අග්‍ර කොටස බුද්ධ පූජාවට තියල, ඉතිරි ටිකෙන් හැන්දක් විතර අබේරත්න මහත්තයගෙ පිඟානට බෙදල, ඉතිරි ටික තියෙන විදිහට ඇවිත් ඉන්න පිරිසටත් බෙදනවා. ගෙනාපු අනෙක් එළවළු ආදියෙත් අග්‍ර කොටස බුද්ධ පූජාවට වෙන් කරල ඉතිරි ටික හැන්ද බැගින් බෙදනවා. ඊට පස්සෙ අබේරත්න මහත්තය පුණ්‍යානුමෝදනාවක් කරනවා. මේ විදිහට එක දිගට පසළොස්වක පෝය දවස් 3 ක රතු බත් පූජා කරන්න කිව්වා. ඊට පස්සෙ සාංඝික දානයක් දීල පින් අනුමෝදන් කරන්න කිව්වා. අපි ඒවත් කළා. අබේරත්න මහත්තය පොල්ගහවෙල ඉඳගෙන සාසනික කටයුතු කරද්දි හැම නොවැම්බර් පසළොස්වක පෝයකම දානෙත් බාර ගත්තා. දැන් අවුරුදු 18 ක් තිස්සේ ඒ දානය හැම නොවැම්බර් පෝයකටම වහරක පන්සලට දෙනවා.

ඉතින් මේ සසරෙ එනකොට පුතා තනියම කරගත්ත විපාකයි, අපිත් එක්ක එකතු වෙලා කරගත්ත විපාකයි සංකලනය වෙලා ඇවිත් දැන් මේ තියෙන තත්වයෙන් සැහෙන දුරට

මුදවල දෙන්න මිසක් ඒ රෝගී තත්වය නිට්ටාවට හොඳ කරන්න බෑ කිව්වා. කර්ම විපාක ඒ තරම් බලවත් කිව්වා. මේ බේත් කරනකොට ටික ටික හොඳ පැත්තට හැරෙයි කිව්වා. පස්සෙ අබේරත්න මහත්තය මහණ වුනාට පස්සෙ මම ඇහුවා, හාමුදුරුවනේ දැන් මොකද කරන්නෙ කියල. මොකද මහණ වුනාට පස්සෙ හාමුදුරුවො ඒ බේත් හේත් කටයුතු කළේ නෑ. හැබැයි සෙනසුරාදා ආශිර්වාද පූජාව කළා. නෝන මහත්තයා දැන් කරන්න තියෙන්නෙ ආශිර්වාද පූජාවට එක්කගෙන එන්න, ඒකට පැන් තියල සෙත් කරල බොන්න දෙන්න කිව්වා. දැන් මට මෙතැනින් එහාට බෙහෙත් කරන්න බෑ, බය වෙන්න එපා මම දැන් සෑහෙන මට්ටමකට හදල තියෙන්නෙ, **කලින් තිබුනට වඩා ස්නායු 70% - 80% විතර හැදිල තියෙන්නෙ, එයින් එහාට මට කරන්න දෙයක් නෑ, ආශිර්වාදයෙන් තමයි ඉතිරි ටික කරන්න වෙන්නෙ කිව්වා.**

ඊට පස්සෙ ඉතින් මම වහරක පන්සලේ හැම පූජාවකටම පුතාව එක්කගෙන ගියා. මේ දරුව දවසක් පන්සලේ කුස්සියේදි බඩු භාණ්ඩ අදින්න ගත්තම මට එතැන හිටපු අය කිව්වා, මීට පස්සෙ මේ ළමය ගේන්න එපා කියල. ඉතින් මම හරිම අසරණ වුනා. බැරිම තැන හාමුදුරුවන්ට කිව්වා, අපිට තියෙන එකම පිළිසරණ ඔබවහන්සේ විතරයි, මෙන්න මෙහෙම ප්‍රශ්නයක් ඇතිවෙලා මේ ළමයව ගේන්න එපා කිව්වා, මම මොකද කරන්නෙ කියල. එහෙනම් නෝන මහත්තය ළමය එක්කරගෙන ඇවිත් අනෙක් අයට බාධා නොවෙන්න පන්සල් භූමියේ පහලින් තියාගෙන ඉඳල, ආශිර්වාද කරන වෙලාවට විතරක් එක්කරගෙන එන්න, එතකොට කොච්චර කෑ ගැහුවත් කමක් නෑ කිව්වා.

ඊට පස්සෙ **ආර්ය මෛත්‍රී භාවනා පොත් 1000 ක් පුතාගෙ නම සඳහන් කරල මුද්‍රණය කරල පුතා අතින්ම ධර්ම දානයක් විදිහට බෙදල දෙන්න කිව්වා.** අපි ඒකත් කළා. පෝය දවසක පන්සලේදි ඒ පොත් බෙදුවට පස්සෙ වහරක හාමුදුරුවො ලොකු පින් අනුමෝදනාවකුත් කළා. **අනෙක් පිරිස ඒ පොත කියවනකොට, පුතාගෙ නමත් සඳහන් කරල තියෙන නිසා ඒ අයගෙන් එන ආශිර්වාදයත් පුතාට ලැබෙනව කියල ඒක සිද්ධ වෙන හැටිත් පැහැදිලි කළා.** අන්තිමට මේ කරගත්ත ධර්ම දානයේ බලයෙන්, පුතා අතින්



සමෘද්ධි තිලකසිරි දරුවා - පූජා කළ කුටිය ඉදිරිපිට

අනන්ත ලෝක සත්වයාට වෙච්ච අවැඩ අසාධාරණයන්ට වන්දි ගෙවිල නිදහස් වෙන්න ලැබේවා කියල කියන්න කිව්වා. ඉතින් **සසරෙ එනකොට උතුමන්ට අපහාස කරපු විපාකයට පුතා වෙනුවෙන් පුළුවන් තරම් ලෝක සත්වයාට මෙත් වඩන්න කිව්වා.** මොකද පුතා කරගත්ත පව්වලට දැන් තියෙන විපාකය අනුව එයාට තනියෙන් මෙත් වඩන්න පුළුවන් මානසිකත්වයක් නෑ. ඒ නිසා පුතා වෙනුවෙන් අපිට කරන්න කිව්වා. අපි මේ හැම දෙයක්ම කළේ මේ අසනීප පුතා වෙනුවෙන්.

ගිහි කාලෙ අබේරත්න මහත්තය ගෙවල් දොරවල්වල තියෙන වාස්තු දෝස ආදී ප්‍රශ්නත් සමාධියෙන් යොමු කරල බලල ඒවට ප්‍රතිකර්මත් කියනවා. සාමාන්‍ය කෙනෙකුට නොපෙනෙන දේවල් පුදුම විදිහට මහත්තයට පේනවා. දවසක් අපි කිව්වම අපේ ගෙදරත් බලන්න ආවා. අඩුපාඩු සියල්ලම කිව්වා. වාස්තු දෝස පෙන්වල දුන්නා. පෝරණුව උඩ වතුර ටැංකිය තිබුනා. ඒක ඉක්මනින් ඉවත් කරල වෙන තැනකින් තියන්න කිව්වා. ගින්දරයි වතුරයි එකට ගැටෙනකොට ගෙදර ඉන්න අයත් හැමවෙලේම ගින්දරයි වතුරයි වගේ රත් වෙලා ගැටෙනව කියල කිව්වා. අනෙක් දෝස ටිකත් බලාගෙන ගිහින්, කඩල බිඳල ඉවත් කරන්නෙ නැතිව රන්, රිදී, මුතු, මැණික්... ආදියෙන් සෙත් කරපු කට්ටල් දානව කියල කිව්වා.

ඊට දවස් කිහිපයකට පස්සෙ තවත් මහත්වරු දෙන්නෙක් එක්ක අවශ්‍ය කට්ටල් ගණන හදාගෙන උදේ පාන්දරින්ම ඇවිත්, පිරිත් කරල, සෙත් කරපු පොල්තෙල් දාල පහනක් පත්තු කරල අධිෂ්ඨාන කරල ඒ කට්ටල් දැම්මා. උදේ ඉඳන් රෑ 6.00 - 7.00 වෙනකල් ඒ වැඩ ටික කරල, කලින් දවසෙත් රෑ නිදි මරල මහන්සියි කියල ටිකක් නිදාගන්න පැදුරක් දෙන්න පුළුවන්ද ඇහුවා. අපි ඇඳක් සූදානම් කරන්න හැදුවම පැදුරක් හොඳයි කිව්වා. ඒ දවස්වල අපේ ගෙදර බිම සිමෙන්ති දාල තිබුනෙත් නෑ, නිකං කොන්ක්‍රීට් කරල තිබුනෙ. ඉතින් පැදුරක් දුන්නම බිම පැදුර එළාගෙන මහන්සිය යන්න කියල ටික වෙලාවක් නිදාගත්තා. ඒ තරම් සරල ගති පැවතුම් තිබුණෙ.

**ගෙවල් දොරවල් ගැන බැලුවත් ඇත තියෙන දෙයක් වුනත් හරියටම එල්ල කරල කියන්න පුළුවන්කමක් අබේරත්න මහත්තයට තිබුනා. මෙහෙම ගුරු පාරක් දිගේ ගිහින් ගේට්ටුවකින් ඇතුල් වෙලා මේ විදිහටයි ගේ තියෙන්නෙ, මේ විදිහට ඉස්සරහ ගස් කොළන් තියෙනවා... ආදී වශයෙන් ඒ ගෙදර පිහිටීමත් හරියටම කියනවා. ගෙදර කවුරු හරි අමනුස්ස බලවේග ඉන්නව නම් ඒවත් නම් ගම් එක්කම කියනවා. ඒවාට කරන්න ඕන ප්‍රතිකර්මත් කියනවා.**

අපේ ගෙදර බලන්න එන්න කලින් පොල්ගහවෙල ඉදෙත්දි සමාධියෙන් යොමු කරල බලල කිව්වා, ඇයි මේ ගෙදර කුස්සිය මැද්දෙන් කුණු වතුර බටයක් දාල තියෙන්නෙ ඒක ගෙදර ඉන්න අයට පෑගෙන කොට හොඳ නෑ කියල. ඒ කතාව හරියටම හරි. මොකද **අපි රෙදි හෝදල කුණු වතුර යවන බටය කුස්සිය මැද්දෙන් තමයි දාල තිබුනෙ. ඒක කඩල ඉවත් කරන්නෙ නැතිව බටය මැද්දෙන් යන්න බටේ දිග ප්‍රමාණයටම කාබන් පෑනක කූරක් තරම් මහත පිත්තල කම්බියක් දැම්මම ඒ දෝසය ඉවත් වෙනව කිව්වා. එදා දාපු ඒ පිත්තල කම්බිය තමයි අදටත් තියෙන්නෙ.**

ඊළඟට වහළ මැද්දෙන් වතුර බහින්න සෙවිලි තහඩුවලින්ම කාණු කිහිපයක් හදල තිබුනා. **වහළ මැද්දෙන් කාණු තිව්වම ඒවායේ තියෙන වාස්තු දෝසත් කියල, ඒ කාණුවලට යටි පැත්තෙන් අර විදිහට පිත්තල කම්බි**

**දමන්න කිව්වා. ඒ විදිහට ඒ දෝසයත් ඉවත් කළා.** දැන් වුනත් මේ ගෙදරට එන වාස්තු විද්‍යාව ගැන දන්න කියන උදවිය පුදුම වෙලා අපෙන් අහනවා, මේ ගෙදර තියෙන වාස්තු දෝසවල හැටියට ඔයගොල්ලො කොහොමද මේ ගෙදර ඉන්නෙ කියල. මොකද ඒ දෝස පිටින් කඩල ඉවත් කළේ නැති නිසා තවමත් පිටින් බැලුවම එහෙම්ම තියෙනව කියල තමයි පේන්නෙ. ඉතින් ඒ අය දන්නෙ නෑ, ඒ කාලෙ අබේරත්න මහත්තය ඇවිත් කඩන්නෙ බිඳින්නෙ නැතිව වෙනත් ක්‍රමවලට ඒ දෝස ඉවත් කරල දුන්න කියල. ඒ නිසා තමයි අපි අදටත් ඔලුව උස්සගෙන මේ ගෙදර ඉන්නෙ.

ඉතින් ඔහොම කාලයක් යනකොට මටත් එක එක දේවල් පේන්න ගත්තා. ගැහැණු කෙනෙක්, පිරිමි කෙනෙක්, ළමයෙක් රෑට ගෙදරට එනවා මට පේනවා. ඉස්සෙල්ල දවසෙ මහ අඳුරු පාටට මේ තුන් දෙනාම ඇවිත් අසනීප දරුවා වටේ කැරකෙන්න ගත්තා. මම ඉතින් අබේරත්න මහත්තයට ගිහින් කිව්වම එතුමා කිව්වා, **මේ ළමයගෙ අතින් පෙර අත්බවයක අවැඩට අසාධාරණයට ලක් වෙච්ච එකම පවුලෙ අම්මයි, තාත්තයි, පුතයි තුන් දෙනෙක් තමයි ඒ එන්නෙ, ඒ අය වෙනුවෙන් රතු බත් පූජාවක් තියන්න එතකොට ඉවත් වෙයි කියල.** ඒක කළාම ඒ ප්‍රශ්නෙත් හරි ගියා. හැබැයි නැවතත් මාස කිහිපයක් යනකොට ඒ ගැහැණු කෙනා මුළු ඇඟම දැලි කුණු පෙරාගෙන කිළිටි රෙද්දක් ඇඳගෙන රෑට ඇවිත් මේ දරුවා ළඟින් ඉන්නවා මට පේනවා. මම ඒකත් ගිහින් අබේරත්න මහත්තයට කිව්වම, **කාන්තාවකට අවශ්‍ය කරන සියලු ඇඳුම් අසරණ කාන්තාවකට අරගෙන දීල හවසට පන්සලට ගිහින් බෝධි පූජාවක් තියල සංසාරයේ වෙච්ච අවැඩ අසාධාරණවලට වන්දි ගෙවෙන්න ඒ වස්ත්‍ර ඒ ගැහැණු කෙනාට ලැබෙන්න කියල පින් අනුමෝදන් කරන්න කිව්වා.** ඉතින් මම අපේ ගෙදර වැඩ කරන්න එන කාන්තාවකට ඒ ඔක්කොම අවශ්‍ය කරන ඇඳුම් අරගෙන දීල බෝධි පූජාවක් තියල අර කියපු විදිහට පින් අනුමෝදන් කළා.

ඊළඟට තවත් දවසක රෑ අර පිරිමි කෙනා ඇවිත් පුතාව වඩාගෙන ඉන්න දර්ශනයක් පෙන්නුම් කළා. ඔහු කිව්වා, තව ටික දවසකින් මම උඹට මෙයාව දෙනව කියල. මම ඉතින් ඔය කතාවත් අබේරත්න උපාසක මහත්තයට ගිහින් කිව්වා. එතකොට අබේරත්න මහත්තය කිව්වා, ඒ පිරිමි කෙනා මෙච්චර කාලයක් මේ දරුවට බැල්ම දාගෙන හිටියෙ, දැන් ඉවත් වෙන්නයි යන්නෙ, **දුප්පත් පිරිමි කෙනෙක් ගෙදරට එක්කගෙන ඇවිත් කන්න බොන්න දීල සියලු ඇඳුම් දීල ඒ වගේ දෙයක් කරන්න, පුතා අතින් සසරෙදි ඒ අයට වෙච්ච අසාධාරණ තමයි ඔය එන්නෙ කියල.** ඊට පස්සෙ අපි ඒකත් කරල මහත්තයට කියල පුණ්‍යානුමෝදනාවකුත් කරගත්තා. පස්සෙ දවසක මම අබේරත්න මහත්තයගෙන් ඒ අය ගැන ඇහුවම, ඒ අයගෙන් දැන් කරදරයක් බාධාවක් නෑ කිව්වා. මුලින්ම දීපු රතු බත් දානයෙන් පස්සෙ පිරිමි ළමය අයින් වුනා. හැබැයි අනික් දෙන්නට අපි කරපු සංග්‍රහ මදි නිසා තමයි නැවත ඇවිත් තියෙන්නෙ. ඉතින් ඒ අයට වස්ත්‍ර දාන දීල ඒ සියල්ල කළාම දැන් ඒ අයත් ඉවත් වෙලා ඒ අයගෙන් කරදරයක් නෑ කිව්වා. ඊට පස්සෙ මම ඒ අයව දැක්කෙත් නෑ.

පළවෙනි දරුව ලැබුනට පස්සෙ මම දිගටම හැම අවුරුද්දකම කිරි අම්මාවරුන්ට දානයක් දුන්නා. ඔහොම කාලයක් යද්දි මම දැන් ඔය දුන්න ඇති කියල හිතිල නැවැත්තුවා. දවසක් අබේරත්න මහත්තය සමාධියෙන් බලන වෙලාවක ඇහුවා, නෝන මහත්තය කිරි අම්මාවරුන්ට දානයක් දුන්න නේද ඇයි නැවැත්තුවෙ කියල. මම කිව්වා, දැන් ඉතින් ගොඩක් කල් දුන්නනේ, මට ඉතින් ඇති කියල හිතුනා, ඒකයි නැවැත්තුවෙ කියල. එහෙම කරන්න එපා, ඒකෙන් සෑහෙන පිරිසක් පින් ගන්නවා, දැන් ගිය අවුරුද්දෙ බැරි වෙච්ච එකත් එක්ක මේ අවුරුද්දෙ දෙකක්ම දෙන්න කියල අබේරත්න මහත්තය කිව්වා.

තව දවසක් අපි මේ ගෙදර හදල වහලට උළු තිව්වා. එදා රෑ හීනෙන් වගේ මම දැක්කා ගේ ඇතුලට හතර දෙනෙක් බහිනවා. සෙනසුරාදා පූජාව දවසක ගිහින් මම ඒ කතාව අබේරත්න මහත්තයට කිව්වම, නෑයො නෑයො අතර ලොකු ප්‍රශ්නයක් තිබිල තියෙනවා, අපේ මහත්තයගෙ ආච්චි අම්මයි සීයයි මාමල දෙන්නෙකුයි කිව්වා ඒ ඇවිත් තියෙන්නෙ. මොකද අපි මේ ගෙදර හදනකොට ඒ අයට පොඩි ඉරිසියාවක් ඇති වුනාලු. එයින් දෙන්නෙක් ටිකක් හොඳයි කිව්වා. ඒ දෙන්න ඇවිත් හිටියෙ අනෙක් අය අඬගහපු නිසයි කිව්වා. එතැන හිටපු ලොකු කෙනා නම් සැඩ යක්ෂ ගති තියෙන කෙනෙක් කිව්වා. ඒ අය වෙනුවෙනුත් **පෝය දවස් 3 ක රතු බතක් පූජා කරන්න කිව්වා.** අපි ඒකත් කළාම අබේරත්න මහත්තය මළගිය ඥාතීන් වෙනුවෙන් පින් අනුමෝදන් කළා.

ඉතින් ඒ කාලෙ අපි මොනව දැක්කත් හරියට දරුවො තාත්තා කෙනෙකුට ගිහින් කියනව වගේ තමයි අබේරත්න උපාසක මහත්තයට ගිහින් කියන්නෙ. හීනයක් දැක්කත් එහෙමයි. ඒ හැම අවස්ථාවකම එතුමා ධර්මානුකූල උත්තරයක් දීල ඒකට කරන්න ඕන ප්‍රතිකර්මත් කියනවා. එක වතාවක් අපේ අම්මයි මියගිය ලොකු අම්ම කෙනෙකුයි පන්සලකට යනවා මම හීනෙන් වගේ දැක්කා. ලොකු අම්මා හරියට කිළිටි ඇඳුමක් ඇඳල, අම්ම නම් ලස්සනට සුදු ඔසරියක් ඇඳල හිටියෙ. ඒ දෙන්නම බුදු පිළිම වහන්සේට වැන්දා. මම ඒකත් අබේරත්න මහත්තයට ගිහින් කිව්වා. ඒ පෙන්නුම් කළේ මියගිය ලොකු අම්මාට වස්ත්‍රයක් අවශ්‍යයි කියන එකයි කිව්වා. ඒ නිසා ලබන පෝයට සුදු සිල් රෙද්දක් ගෙනත් මේ ස්ථානයේ සිල් සමාදන් වෙන කාටහරි පූජා කරල ලොකු අම්ම වෙනුවෙන් පින් අනුමෝදන් කරන්න කිව්වා. එක එක්කෙනාට එහෙම පේන විවිධ දේවල් තියෙනවා, ඒ ගැන ඉතින් වැඩිපුර හිතන්න යන්න එපා, මොනවහරි පෙනුනොත් යම් කිසි දෙයක් පෙන්නුම් කරනව තමයි කිව්වා.

ඒ වගේම දවසක් අබේරත්න මහත්තය අපේ මහත්තයට නවගුණ යන්තරයක් හදල දුන්නා. එතකොට මහත්තයගෙ කරේ දේවාලයකින් දාපු යන්තරයකුත් තිබුනා. අබේරත්න මහත්තය කිව්වා, කමක් නෑ ඒකත් තියෙන්න අරින්න වරදක් නෑ කියල. දවසක් රෑ මට හීනෙන් වගේ පෙන්නුම් කළා, කවුරු හරි මහත්තය ළඟට ඇවිත් කරේ තියෙන දේව යන්තරය කඩනවා. හැබැයි අබේරත්න මහත්තය දාපු යන්තරය අදිනවා අදිනවා කොච්චර ඇද්දත් කැඩෙන්නෙ නෑ, මහ කඹයක් වගේ තමයි පෙන්නුම් කළේ. අන්තිමට උදේ බලනකොට අර දේව යන්තරය ඇත්තටම නූලෙන් කැඩිල ඇඳ උඩ තියෙනවා. අබේරත්න මහත්තය දාපු යන්තරය එහෙම්ම තියෙනවා. මම ඒ ගැන ගිහින් කිව්වම අබේරත්න මහත්තය කිව්වා, ඒකත් කඩන්න තමයි හැදුවෙ, නමුත් ඒක කඩන්න බෑ ඒ තරම් බලවත් නිසා තමයි කඹයක් වගේ පෙනුනෙ කියල.

අබේරත්න මහත්තය මහණ වුනාට පස්සෙ අවසාන කාලයේ දවසක් මුණගැහුනම අපි කිව්වා, හාමුදුරුවනේ අපි හෙට ඥාති

බතක් දෙනවා, මේ අසනීප පුතා වෙනුවෙන් විශේෂයෙන් මොනවද කරන්න ඕන කියල. මේ සඟරාවෙ 27, 28, 29 කලාපවල කියල තියෙන විදිහට ඥාති දානය දෙන්න කියල ටික වෙලාවකින් කිව්වා, නාමල් පූජා කරන්න කියල. **බුදුන්ට නාමල් පූජා කිරීම ස්නායු ආබාධවලට හුඟක් හොඳයි කිව්වා.** ඊට අමතරව **වන්දනාමාන කරන බෝධීන් වහන්සේ නමකගෙන් වැටිච්ච බෝ කොළ 3 ක් අහුලගෙන තොප්පියක් ඇතුලට තියල ඒකට යටින් රෙදි කැල්ලක් තියල මහල, කොළ ටික ඔළුවෙ නොගෑවෙන්න ළමයගෙ ඔලුවට දාල තියන්න කිව්වා, ඒකෙන් සැහෙන සහනයක් එයි කියල. එතකොට ඒ බෝ කොළවල තියෙන සුද්ධ ශක්තියත් සම්බන්ධ වෙලා, බෝ කොළ ඔලුව උඩ තියාගෙන ඉන්නකොට බෝධීන් වහන්සේට කරන ගරු කිරීමක් හා සමානව ක්‍රියාත්මක වෙන නිසා විපාකය ගෙවන්නත් එක්තරා උපනිශ්‍රයක් වෙලා යම් කිසි සහනයක් එනවා.**

කොහොම හරි ඉතින් අබේරත්න මහත්තය අපිට කියපු දෙයක් වැරදිලා නම් නෑ. ඥාති දාන දුන්නමත් පහුවදා ඒ මියගිය ඥාතීන් හොඳට ලස්සනට ඇඳල ඉන්නව මට පෙනිල තියෙනවා. අපේ මහත්තයගෙ නැන්ද කෙනෙක් මියගිහින් ඥාති දානයක් දුන්නට පස්සෙ මම දවසක් හීනෙන් වගේ දැක්කා, හොඳට පෘෂ්ටිමත්ව අර ඥාති දානෙත් එක්ක දීපු සුදු රෙද්දෙන් උඩු කය වහගෙන ඉන්නවා.

දැන් ඉතින් මේ වෙනකොට මේ අසනීප පුතාගෙ තත්වය එදාට වඩා හුඟක් වෙනස්. එදා තිබිච්ච දුවන පෙරලන කලබලකාරී ගතිය දැන් නෑ. අවුරුදු 5 - 6 න් ඉස්කෝලෙ විශේෂ පන්තියකට දාන්නත් පුළුවන් වුනා. මොකද අබේරත්න මහත්තය මුලදිම කිව්වා, අවුරුදු පහෙන් ඉස්කෝලෙට දාන්න පුළුවන් මට්ටමට ළමයව අරගෙන දෙනව කියල. දැන් මේ පුතාට වයස අවුරුදු 26 යි. තනියෙන් නාගන්නවා, රැවුල කපනවා, රෙදි වේළනවා, රෙදි මදිනවා. අපේ පවුලේ හැමෝගෙම රෙදි වේළල නවල දෙන්නෙත් මේ පුතා තමයි. පිඟන්, කෝප්ප හෝදනවා. කාගෙවත් උදව්වක් නැතිව තමන්ගෙ වැඩ ටික තනියෙන් කරගන්නවා. ඒ වගේම මට කන්න උයන්න, එළවළු කපන්නත් උදව් කරනවා. අනෙක් අයට වඩා එයාගෙ වැඩ වේගවත්. කාටවත් බරක් නෑ. වචන කතා කරන්න බැරි වුනත්, මම මල් පහන් පූජා කරනකොට ගාථා කියල ඉවර වෙනකල් වැඳගෙන ළඟට වෙලා ඉන්නවා.

**විශේෂයෙන් කෙරෙන දැනුවත් කිරීමයි**

වර්තමානයේ වෙළඳසැල්වල විකුණන්න තියෙන ෆාම් බිත්තර, වටු කුරුළු බිත්තර, තාරා බිත්තර... ආදී මේ හැම බිත්තරයකම ජීවයක් තියෙන බව වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ හේතු ඇතිවම විස්තර කරල තියෙනවා. ඒ බව උන්වහන්සේගේ සමාධියටත් ඕනෑ තරම් දර්ශනය වෙලා තියෙනවා. උන්වහන්සේ මහණ වෙන්න පෙරත්, විවිධ වෙළඳසැල්වල බිත්තර ආප්ප... ආදිය හදනකොට පර්යේෂණයක් වශයෙන් ඒ දිහා අනන්තවත් සමාධියෙන් යොමු කරල බලාගෙන ඉඳල තියෙනවා. **ඒ හැම බිත්තරයක්ම කඩන අවස්ථාවෙදි ඒ තුල ඉන්න ගන්ධබ්බයා කිරණක් ආකාරයට එළියට විසි වෙන හැටිත්, නැවතත් කිකිළියකගේ බඩට ඇතුල් වෙන හැටිත් සමාධියෙන් දැකල පාපයේ බරපතලකම පෙන්වන්න ලෝකයාගේ යහපත පිණිස ප්‍රකාශ කරල තියෙනවා.**

මේ හේතුව නිසාම බිත්තර කන්න එපා කියල තමයි උන්වහන්සේ උපදෙස් දුන්නෙ. නමුත් එක පාරටම පුරුද්ද නතර කර ගන්න බැරි නම්, අවශ්‍යම නම්, වෙළඳසැල්වල තම්බල, කඩල හදල තියෙන ඒවා විතරක් ගන්න කියලත් උපදෙස් දුන්නා. හැබැයි **වෙළඳසැල්වලින් බිත්තර ආප්ප ගන්නකොට කවදාවත් කියල හදාගන්න එපා, හදපු ඒවා විතරක් ගන්න කියලත් උපදෙස් දීල තියෙනවා. මොකද තමන් කියල හදාගත්තොත් එවෙලෙම බිත්තර කඩල තමන් වෙනුවෙන්ම හදන නිසා තමනුත් ප්‍රාණඝාතයට අනුබල දීමේ පාපයට අහු වෙනවා.** ඒ නිසා තමයි අත්‍යවශ්‍යම නම්, කියල හදාගන්නෙ නැතිව වෙළඳසැල්වල හදපු ඒවා ගන්න කිව්වෙ. එතකොට ඉතින් වෙළඳසැල් හිමියො සහ ඒ බිත්තර කඩල බිඳින අය ඒ පාපයට අහුවෙනවා. නමුත් **දයානුකම්පාව මුල් කරගෙන එහෙම හදපු ඒවා වුනත් ආහාරයට ගැනීමෙන් වළකින්න පුළුවන් නම් ඒකත් විශේෂ ගුණයක් බව උන්වහන්සේ ප්‍රකාශ කරල තියෙනවා.**

**ඒ නිසා පාපය සුළුකොට තකන්නෙ නැතිව, සතුන්ගෙ බිත්තර කඩාගෙන කෑමේ තියෙන බරපතලකම තේරුම් ගන්න ඕන.** මොකද මේ වෙනකොට ෆාම් බිත්තරවල ජීවයක් නෑ කියල බොහෝ පිරිසක් මතයක් හදාගෙන දවස ගානෙ බිත්තර ගෙනත් කඩාගෙන කනවා. සමහරවිට තමන්ගෙ ගෙදර වුනත් කේක්, පුඩින්... ආදී ආහාර වර්ග හදන්න කියල බිත්තර බිඳින අවස්ථා ඕන තරම් තියෙනවා. ඒ වගේම මගුල් උත්සවයක් ගන්නකොටත්, අද මගුල් කේක් (Wedding Cake) කියල හදන ඒවාටත් බිත්තර කඩල දානවා. ඉතින් එක මගුලක කේක්වලට විතරක් බිත්තර කීයක් නම් බිඳිනවද? එතකොට **තමන් ඒ වගේ කේක් හදන තැනකට ඇණවුමක් බාර දුන්නොත් ඒ බිඳින බිත්තරයක් ගානෙ ඒ ඇණවුම් කරන අයටත් පාපය අයිති වෙනවා. මොකද තමන් හොඳටම දන්නවා, මේ කේක්වලට බිත්තර බිඳල දානව කියල.** එහෙම නැතිව, කලින් හදල තියෙන කේක් නෙවෙයි ගන්නෙ. කියල ඇණවුම් කළාට පස්සෙ තමයි ඒ අය තමන් උදෙසා හදල දෙන්නෙ. ඒ නිසා **එහෙම ඇණවුම් කරනකොට, බිත්තර දාන්න එපා කියල මේ ගැන අවබෝධයක් තියෙන අයට කියන්න පුළුවන් නම්, තමන් අතින් නොදැනුවත්වම සිද්ධ වෙන්න තියෙන පාපයක් වළකිනවා. එහෙම නැත්නම් තමන් නොදැනුවත්ව වුනත් ඒවායින් නැගෙන පාපය සුළුපටු නෑ.** ඉහත කතාවෙනුත් ඒ බව සනාථ වෙනවා.

මොකද බිත්තරයේ ජීවයක් තියෙනව කියල දන්නෙ නෑ කියන්නෙ තමන්ගෙ තියෙන අවිද්‍යාව, මෝහය නිසා. ඒ ගැන නොදැනීම නිදහසට කාරණයක් නෙවෙයි. එහෙම නොදන්න නිසා තමයි ඒ ගැන දැනගත්ත උතුමන් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ඒ ගැන කියල දෙන්නෙ. ඒ කරුණු දහමට අනුකූලව පෙන්වා දුන්නට පස්සෙ ඒවා ඥාන ගෝචරව තේරුම් අරගෙන පාපයෙන් වැළකිලා මෙලොව පරලොව අභිවෘද්ධිය සලස ගන්න තමන් දැනුවත් වෙන්න ඕන. **(බිත්තරවල තියෙන ජීවය සම්බන්ධයෙන් වැඩි විස්තර දැනගැනීම සඳහා හෙළ බොදු පියුම 10, 11 කලාපවල පළ කරල තියෙන ලිපි පෙළ කියවන්න.)**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



රතු පෙතං



කබරස



මහ පලා



කොට්ට මුරුංගා

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 18

දුර්ලභව ලැබූ මනුස්ස අත්භවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් විනාස වෙන්න ඉඩ නොදී ආරක්‍ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් හඳුන්වා දෙනවා.

**<u>දඹල</u>** - හැම දෙනාම වගේ දන්නා කියන, වෙළඳපොලෙත් බහුලව තියෙන එළවළුවක් වුනත්, හුග දෙනෙක් නොදන්න පැතිකඩක් තමයි මේ විග්‍රහ කරන්නෙ. පෙති දඹල, රතු පෙති දඹල, සුදු පෙති දඹල, කරල් දඹල, රට දඹල... ආදී වශයෙන් දඹල වර්ග කිහිපයක් තියෙනවා. දඹල හෙළ වෙදකමේදි සහමුලින්ම ඖෂධ සඳහා යොදා ගන්නවා. සාමාන්‍යයෙන් නොමැරෙන ශාක ගණයට තමයි දඹල වැටෙන්නෙ. මොකද දඹල අලය පොළව යට තියෙන තාක් කල් වැල මැරුනත් නැවත සුදුසු කාලෙදි හට ගන්නවා. අවුරුද්දේ එක කාලයක විතරක් හට ගෙන එල දරල ඉන්පසු වැල මැරිල යනවා. නැවතත් ඊළඟ අවුරුද්දේ ඒ විදිහටම හට ගන්නවා. වෙනත් සතුන්ගෙන් හේන් කොටු රැක ගැනීම සඳහාත්, එළවළුවලට වැළඳෙන රෝග බෝ වීම වැළැක්වීම සඳහාත් වැට මායිම්වලට හිටවන වැල් විශේෂයක් විදිහටත් දඹල හඳුන්වා දෙන්න පුළුවන්. නමුත් ඖෂධීය වටිනාකම නම් අති මහත්. එළවළු වර්ග අතර අධි ප්‍රෝටීන් සහිත ශක්තිජනක ආහාරයක්.

දඹල එලදාව ලැබෙන කාලයට කොළවලට වඩා මල්, කරල් හට ගන්නවා. මේ දඹල මල් මී මැස්සන්, සමනලුන්, පැණි කුරුල්ලන්... ආදී සතුන්ගේ ආහාර ගබඩාවක්. මොකද මී මල් හැරුනම දඹල මල්වල අනෙක් මල්වලට සාපේක්‍ෂව ඉතා ඉහල පැණි ප්‍රමාණයක් අඩංගුයි. ගොවියා දඹල හිටවන්නෙ හේනේ හෝ එළවළු කොටුවේ හෝ ගෙවත්තේ හෝ වැට මායිමක. මොකද ඒකෙන් ප්‍රයෝජන කිහිපයක් ලැබෙන නිසා. වැටකට සම්බන්ධ කරල දඹල හිටෙව්වම එහා මෙහා නොපෙනෙන තරමට ඉතා ඉක්මනින් වැට මායිම් වහගෙන පැතිරෙනවා. එතකොට හේනේ හෝ කොරටුවේ හෝ තියෙන වෙනත් භව භෝග පිටින් බැලුවම පේන්නෙ නෑ. සාමාන්‍යයෙන් එක දඹල මල් කිණිත්තකින් අඩුම තරමෙ කරල් තුන හතරක්වත් හට ගන්නවා. එතකොට ඕනෑම කෙනෙක්ගෙ ඇහැ ගැටෙන්නෙ මේ කරල්වලට. එතකොට ඒක දිහා බලල යනව මිසක් වෙනත් දෙයක් බැලෙන්නෙ නෑ. ඒ නිසා ඇස්වහ කටවහ... ආදිය වදින්නෙත් නෑ. සමනලුන්, මී මැස්සන්, පැණි කුරුල්ලන්... ආදී සතුන් මගින් පරාගණය සිද්ධ වෙන නිසාත්, කෘමි සතුන් පණුවන් කා දමන නිසාත් ඉතිරි එළවළු වර්ගත් හොඳින් එල දරනවා. ඒකෙන් අස්වැන්න වැඩි වෙනවා.

දඹල වැලේ ප්‍රධාන අලයට අමතරව කුඩා මුල් තුලින් රනිල ගැටිති හට ගන්නවා. එයින් පස සාරවත් කරනවා. පසේ තියෙන ඌණ පෝෂක සංඝටක යථා තත්වයට පත් කරනවා. ඒ වගේම මේ දඹල මල්, පලා කොට්ටෝරුවන්, ගිරව්, ලේන්නු සහ වවුල් විශේෂයන්ගේ ප්‍රියතම ආහාරයක්. උන් කොරටු, හේන් වටා තියෙන දඹල මල් ආහාරයට ගන්නකොට වගාවට හානිදායී කෘමි විශේෂත් ආහාරයට ගන්නවා. ඒකෙන් වගාව රැකෙනවා. ඒ වගේම දඹල වැල් තියෙන තැන්වල මීයන්ට ඉන්නත් බෑ. මොකද දඹල මුල්වල තියෙන රනිල ගැටිති තුවාල වුනාම එන රසායනය මීයන්ට හානිදායකයි, විසයි. එතකොට අල වර්ග හිටවල තියේ නම් ඒවාට මීයන්ගෙන් එන හානියත් අඩු වෙනවා. ඒ වගේම මීයන් ආහාරයට ගන්නා සර්පයන් එන්නෙත් නෑ. මේ අනුව බලනකොට දඹල කියන්නෙ වත්තක හිටවා ගත යුතුම ශාකයක්.

**අද බොහෝ දෙනෙකුට තියෙන ඔස්ටියෝපෙරෝසිස්, ආතරයිටිස්... ආදී අස්ථි රෝග සඳහා මහා ඖෂධයක්. නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් හන්දිපත් වේදනා, මාංශ පේෂීන්ගේ වේදනා වහා සමනය වෙනවා.** හැබැයි අධි ප්‍රෝටීන් සහිත නිසා වකුගඩු අකර්මණ්‍යතාවය තියෙන රෝගීන්ට සුදුසු නෑ. ඒ වගේම විශේෂයෙන් රතු පෙති දඹල රතු රුධිරානු නිෂ්පාදනය වැඩි කරනවා. ඒ නිසා **ඩෙංගු රක්තපාත රෝගීන්ටත් ඉතා සුදුසුයි. ඒ වගේම ලියුකේමියා රෝගීන්ටත්, බඩදරු මව්වරුන්ටත් ඉතා ගුණදායකයි.** රතු පෙති දඹලවල තියෙන මේ කියන ගුණාංග යම් මට්ටමකට අනෙක් දඹල වර්ගවලත් තියෙනවා. හෙළ වෙදකමේදී අස්ථි පලාගෙන එන ගෙඩි, භගන්දරා සහ පිළිකා රෝග සඳහා ඖෂධ විදිහට දඹලවල රනිල ගැටිති යොදා ගන්නවා. දඹල අලයත් ඒ රෝග සුව කරන්න ඖෂධයක් විදිහට භාවිතා කරනවා.

ළපටි කරල් ව්‍යංජනයක් විදිහටත්, මේරුවට පස්සෙ ඇට කඩල, මුං ඇට... වගේ තම්බලත්, නැත්නම් මාළුවක් සකස් කරන ආකාරයටත්, එහෙමත් නැත්නම් සාමාන්‍ය කැඳක් හදනකොට එකතු කරන හාල් වෙනුවටත් ආහාරයට එකතු කරගන්න පුළුවන්. ඒ වගේම දඹල කොළත් ඉතා රසවත් මැල්ලුමක්. සලාදයක් ආකාරයට වුනත් කොළ, කරල් ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**මෑ** - බොහෝ දෙනෙක් දන්නා කියන ආහාරයක් වුනත් මේ විස්තර කරන්නෙ බොහෝ කොටම නොදන්නා පැතිකඩක්. පොළොං මෑ හෙවත් රතු මෑ, නුග මෑ, හවරි මෑ, කෝටු මෑ, වඳුරු මෑ, පඳුරු මෑ... ආදී වශයෙන් මෑ වර්ග බොහෝ ප්‍රමාණයක් තියෙනවා. අදටත් ගමේ ගොඩේ කුඹුරු වැපුරුවට පස්සෙ මේවා නියරවල්වල පැළ කරනවා. කුඹුරු පැහෙන කාලයට ඒවත් අස්වැන්න ලබා දීල මැරිල යනවා. හේනේ දඬු වැටට, ගෙදර පැළඉනි වැටට අදටත් ගම් පළාත්වල ගොවියා මෑ හිටවල බලාපොරොත්තු වෙන්නෙ වගාව ආරක්ෂා කර ගන්න. මොකද කුඹුරු වපුරල ඒත් එක්කම නියරවල්වල මෑ හිටෙව්වම, මෑ වැල කුඹුරේ ගොයමට වඩා කලින් හටගෙන කුඹුර හතර වටෙන්ම වහගන්නවා.

මේ මෑ වැල්වල විවිධ පක්ෂීන් අරක් ගෙන කූඩු හදනවා. මෑ මල් ආහාරයට ගැනීමට පලා කොට්ටෝරුවන්, ගිරවුන්... ආදී පක්ෂීන් එනවා. එතකොට ඔවුන් ගොයමට හානි කරන කෘමි සත්තුත් කා දමනවා. ඒ පක්ෂීන්ගේ වසුරු කුඹුරට එකතු වුනාම ඒවා පොහොර වගේම වසංගත රෝග වළක්වන කෘමි නාශකයක් විදිහටත් ක්‍රියා කරනවා. දිලීර, බැක්ටීරියා ආදී රෝග වැළඳෙන්නෙත් නෑ. රාත්‍රියට බකමූණන් ආදී සතුන් විලෝපිකයන්ව ආහාරයට ගන්න කුඹුරට ඇදිල එනවා. ඒ මගින් මීයන් ආදී සතුන්ගෙන් එන හානියත් අවම වෙනවා. ගොයම් පැහෙන කාලයට පරෙවියන්, ගිරවුන්, මීයන්... ආදී සතුන්ගෙන් එන හානිය අඩු වෙන්නෙ, ඒ කාලයට කුරුළු රාජාලීන් වගේ පක්ෂීන් කුඹුරුවල තියෙන මෑ කෝටුවල වහගෙන ඔවුන්ට අවශ්‍ය ආහාර ලබා ගන්න උත්සාහ කරන නිසා. මොකද කුරුලු රාජාලීන්ට අනෙක් පක්ෂීන් බයයි.

මෑ කරල් සීතල ආහාරයක්. නමුත් ඉතා ගුණදායකයි. මළබද්ධය දුරු කරනවා. රක්ත උෂ්ණය, අම්ල පිත්ත ප්‍රදාහය සමනය කරනවා. හෙළ වෙදකම තුලදීත් කරල් සහ වැල සහමුලින්ම ඖෂධ වශයෙන් යොදාගන්නවා. මෙලනින් ඌණතාවය නිසා හට ගන්නා සියලු චර්ම රෝග සඳහාත්, පීනස ආශ්‍රිත ශීර්ෂ රෝග සඳහාත් ඖෂධයක් විදිහට මෑ වර්ග යොදා ගන්නවා. හැබැයි ඒ දෙමුහුම් තාක්ෂණයෙන් සකස් කළ මෑ වර්ග නෙවෙයි, අපේ දේශීය මෑ වර්ග විතරයි. **පොළොං මෑ නිතර අනුභවයෙන් දණහිසෙන් පහළ කොරළ වගේ වියළි ස්වභාවයත්, හම හීරූ පසු කුඩු යන ස්වභාවයත්, ඉස්හොරි ආදියත් මග හරවනවා.** හිසකෙස් වර්ධනය තීව්‍ර කිරීමේ හැකියාවක් නුග මෑවල තියෙනවා. හවරි මෑත් හිසකෙස් වර්ධනයට උපකාරි වෙනවා. **කෝටු මෑ සියලු රක්ත රෝග සඳහා ඉතා ගුණදායකයි.** සියලු මෑ වර්ග ශරීරය සිසිල් කරනවා. ශරීරයේ සියලු පද්ධතිවල සිව් වේළී යාම පාලනය කරනවා. ඒ වගේම වාජීකරණ ගුණයෙන් යුක්තයි.

ළපටි කරල් ව්‍යංජනයක් විදිහටත්, මෝරපු කරල්වල ඇට තම්බල හෝ ව්‍යංජනයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්. මෑ කොළ සාමාන්‍ය කොළ මැල්ලුමක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්. ඒ වගේම **ඕනෑම මෑ වර්ගයක ඇට ටික ගිරව් කෑවට පස්සෙ ඉතිරි වෙන කරල් කොටස බිමට වැටෙන්න පෙර වැලේ තියෙද්දිම කඩාගෙන ව්‍යංජනයක් විදිහට උයල දීමෙන්, සමහර අවුරුදු 3 - 4 ළමයින්ට ඇතිවෙන, වෙලාවට කතා කරන්න බැරි, ගොත ගැහෙන ස්වභාවය දුරු වෙනවා. හැබැයි ඒ සඳහා ගිරව් හොට ගහපු ඒවාම ගන්න ඕන. ඇට ටිකක් ඉතිරි වෙලා තිබුනොත් ඒකත් එක්කම ගන්න පුළුවන්.**

**කබරස** - ගංගා, ඇලදොළ, දෙපා වළවල්, කුඩා දිය පාරවල් සහ තෙතමනය සහිත වදුලු තියෙන තැන්වල ගස් වටා සහ බිම දිගේ සරුවට වැඩෙනවා.. තද කොළ පැහැයෙන් යුක්ත සමමිතික පත්‍ර සහිතයි. මුල පටන් වැල අග දක්වා විස සහිත තියුණු කටු රාශියකින් සමන්විතයි. හෙළ වෙදකමේදී සහමුලින්ම යොදා ගන්නවා. කබරස දළු ආහාරයට ගන්නවා. ඉතා උෂ්ණාධික ආහාරයක් නිසා අර්ශස් සහ රක්ත රෝග බහුල අයට සුදුසු නෑ. **පෙර හොඳින් ඉඳල දැන් ඇලි ස්වභාවයට පත් වුන අයට ඉතා ගුණදායකයි. සියලු ඇට මිදුළු ශක්තිමත් කරනවා. දරා ගැනීමේ හැකියාව වැඩි කරනවා. ශරීරයට අවශ්‍ය ප්‍රමාණයට රුධිරානු නිෂ්පාදනය කරනවා. ස්නායු පද්ධතිය ප්‍රබලව උත්තේජනය කරනවා.** වැල් පැන්නුම් ආදී ගුරුකම් සඳහාත් යොදා ගන්න නිසා කපා දමා හෝ ගැට දමා තියෙන කබරස වැලක් දැක්කොත් කිසිම දවසක ඊට උඩින් පැනීමෙන් වළකින්න. මොකද ඒක වැල් පැන්නුමක් වීමට බොහෝ දුරට ඉඩ තියෙන නිසා. කබරස වැලට ඕනෑම සුදු හෝ කළු කිරණ ශක්තියක් ගැබ් කරගන්න පුළුවන්. ඒ නිසා සුදු කිරණ ශක්තිය එකතු කරල නරක පැති කපල දාන්නත් පුළුවන්. ඒ වගේම කටු විස සහිත නිසාත්, ඒකට කළු කිරණ ශක්තිය එක් කිරීමෙන් තවත් තීව්‍ර වෙලා ඉතා බරපතල තත්වයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙන්නත් පුළුවන්. නමුත් මේකෙ තියෙන ඖෂධ ශක්තිය වෙනත් කිසි දෙයකින් ලබා ගන්න බෑ.

කබරස දළු සාමාන්‍ය පලා සම්බෝලයක්, එළවළු ව්‍යංජනයක් හෝ බැදුමක් හෝ සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත් සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**මහ පලා** - පොතුපලා, තණපලා, ගිරාපලා වගේම ආහාරයට සහ ඖෂධ සඳහාත් යොදා ගන්නා වටිනා පැළෑටියක්. හොඳින් දිය සීරාව තියෙන සියලු තැන්වල ස්වභාවිකව හට ගන්නවා. පත්‍ර වෘත්තාකාරයි. දණ්ඩ රතු පාටට හුරු දුඹුරු පාටින් යුක්තයි. පත්‍රවල සහ දණ්ඩේ කුඩා කෙඳි රාශියක් දකින්න පුළුවන්. වල් පැළෑටියක් විදිහට සළකල ඉවත් කළත් ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. ගමේ ගොඩේ ඕනෑම කෙනෙක් කුඹුරක, එළවළු කොරටුවක මහ පලා හැඳුනම ඒවා ඉවත් කරන්නෙ නෑ. මොකද ඒ මගින් පසේ තෙතමනය හොඳින් රඳව ගන්නවා.

තුන් දොස් සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. හිස, උගුර, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් ආශ්‍රිත රෝග සඳහා හෙළ වෙදකමේදී බහුලව යොදා ගන්නවා. උගුරේ ආසාදන, ස්වර තන්ත්‍ර වේළීම නිසා හට ගන්නා ආසාදන, හිසරදය, නළලත සමග ඇතිවන ඇස්වල වේදනාව, කන් අගුල් වැටීම... ආදී රෝගී තත්වයන් මග හරවා ගන්නත් මහ පලා යොදා ගන්නවා. ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහය, මළබද්ධය, අර්ශස්... ආදී රෝගවලටත් රක්ත උෂ්ණයටත් ඉතා ගුණදායකයි. වියළි කාශ්ටීය දේශගුණයක් පවතින කාලවල ආහාරයට ඉතා සුදුසුයි. මොකද ශරීරය අභ්‍යන්තරයේ තියෙන දාහ සහගත බව වහා අඩු කිරීමේ ස්වභාවයක් මහ පලා ආහාරයට ගැනීමෙන් පසු ශරීරයට දැනෙනවා. ඇස්වලටත් ඉතා සිසිලසක් දැනෙනවා. සාමාන්‍ය එළවළු ව්‍යංජනයක්, මැල්ලුමක්, පලා සම්බෝලයක්... ආදී කොයි ආකාරයකින් වුනත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**කොට්ට මුරුංගා** - මේ තමයි පෙරදා පටන්ම අපේ රටේ තිබිච්ච මුරුංග විශේෂය. සාමාන්‍යයෙන් දැන් තියෙන මුරුංග ගස්වලට සමාන පෙනුමක් තිබුනත් මේවා ඉතා විසාලව වැඩෙනවා. එල හට ගන්නේ දීර්ඝ කාලයක් ගියාට පසුව. ඉතා බහුලව මුරුංග කරල් හට ගන්නෙත් නෑ. දුඹුරු පාටට හුරු අළු පැහැයක් ගන්නා කරලක් අඟල් 8 - 10 කට වඩා දිග යන්නෙත් නෑ. හැබැයි සාමාන්‍ය මුරුංග කරල්වලට වඩා මහතයි. කරලක ඇට 6 - 7 කට වඩා නෑ. පැල ඉනිවැටවල්වලට, හේන් කොරටු වටා තියෙන වැටවල්වලට හිටවනවා. බොහෝ කොටම වියළි කලාපයේ නම් ස්වභාවිකව වැවෙනවා.

ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. ඒ වගේම පරිසරයටත් ඉතා යෝග්‍යයි. මොකද පසේ තෙතමනය රඳවනවා. දිලීර, බැක්ටීරියා... ආදී රෝගවලින් පරිසරයේ තියෙන අනෙක් ශාක රැකගන්න උදව් වෙනවා. බුලත් කොවුල්වලට හිටවීමෙන් බුලත් රෝග මග හැරෙනවා.

හෙළ වෙදකමේදී සහමුලින්ම යොදා ගන්නවා. උෂ්ණාධික ආහාරයක් වුනත් හොඳින් පොල් එකතු කරල මුරුංග කරල් ව්‍යංජනයක් විදිහට සකස් කරගත්තට පස්සෙ උෂ්ණ ගතිය පහ වෙලා යනවා. අපි ගන්නා ආහාරපාන මගින් **ආමාශයේ, මහ බඩවැලේ, කුඩා බඩවැලේ මොන යම් හෝ වස විසක්, කාරම් ස්වභාවයක් බැඳිල තියේ නම් ඒවත්, ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගත් තුවාල හෝ ඒවායේ ඇති අපද්‍රව්‍යත් මහ බඩවැලට අද්දවල ඒ හරහා මළ මුත්‍රා මගින් පිට කිරීමට සැලැස්වීම කොට්ටා මුරුංගවල සුවිශේෂීය ගුණයක්.** හෙළ වෙදකමේදී කොට්ට මුරුංග පොතු ඉස්ම මොළ විරේකය (නස්න කිරීම) සඳහාත් යොදා ගන්නවා.

අද බටහිර වෛද්‍ය විද්‍යාවේ ඉරුවාරදය කියන රෝගී තත්වය නිට්ටාවට හොඳ කරන බෙත් නෑ. නමුත් හෙළ වෙදකමේදී මේ කොට්ට මුරුංග / මුරුංග පොතුවලින් හිස් කබලේ කෝටරක තුල රැඳිල තියෙන ගල් වෙච්ච සෙම සහ අපද්‍රව්‍ය ඉවත් කරනවා. එතකොට ඉරුවාරදය කියන රෝගී තත්වය සුව වෙනවා. (මේ අත් බෙහෙත හෙළ බොදු පියුම 87 කලාපයේ පළ කරල තියෙනවා.)

කොට්ට මුරුංග බහුලව තියෙන තවත් රටක් තමයි අප්‍රිකාව. ජල හිඟය උග්‍රව තියෙන රටක් වුනත්, අපේ රටේ තරම් ආහාර සහ ජලය පිරිසිදුවට නොලැබුනත්, අපේ රටේ තරම් ඒ රටේ වකුගඩු රෝගීන් නෑ. මොකද ඔවුන් **බොන්න ගන්න මඩ මිශ්‍ර ජලයට කොට්ට මුරුංග ඇට තලල දානවා. පැය 2 - 3 ක් යනකොට ජලය ඉතා පැහැදිලිව පිරිසිදු වෙනවා. ජලයේ තියෙන මනුස්සයාට අහිතකර සියලු සංඝටක කොට්ට මුරුංග ඇටවල තියෙන ඖෂධ ශක්තියෙන් පොළවේ ගුරුත්වාකර්ෂණයට මුසු කරල අඩියේ තැන්පත් කරනවා.** ඒ නිසා රාත්‍රී කාලයේ මුරුංග ඇට කුඩු කරල වතුරට දාල උදේට බොන්න ගන්නවා.

ඒ වගේම මේ කොට්ට මුරුංගා ලේ ධාතුව පිරිසිදු කිරීමේ සුවිශේෂීය ගුණයෙන් යුක්තයි. මුරුංග ඇට තුල තමයි මතු පරපුර බිහි කරන්න අවශ්‍ය කරන ශක්තිය ඇතුළු සියලු ශක්තිය ගැබ් වෙලා තියෙන්නෙ. ඒ නිසා මේ ඇටත් එක්ක ආහාරයට ගත්තම **ඇට මිදුළු තුල හැදෙන රතු රුධිරානු නිෂ්පාදනය වැඩි කරනවා. ඇට මිදුළු හොඳින් නිරෝගීව පවත්වාගෙන යන්න උපකාරී වෙනවා. මේ මුරුංගා කරලෙ හැඩය ගත්තම හරියට කොඳු නාරටියක් වගේ. මුරුංග ඇටයත් හැඩයෙන් කොඳු ඇටයක් වගේ. ඊට අනුකූල ගුණ පිහිටන නිසා මේවා ආහාරයට ගැනීමෙන් ශරීරයේ දරා ගැනීමේ ශක්තිය ඉහල නංවනවා. ශරීරයේ සන්ධිවල වැහුම් හිරවීම් අරිනවා. ආතරයිටිස් හැදෙන්න තියෙන අවස්ථාව නැති කරනවා. මළබද්ධය දුරු කරනවා.** අධික සීතල ආහාර ගැනීම නිසා ඇතිවන ශරීර උෂ්ණත්වය ඉහල යාමත් කොට්ට මුරුංග මගින් නතර කරනවා.

මේ කොට්ට මුරුංග කොළ, දළු සාමාන්‍ය කැඳක්, මැල්ලුමක්, සම්බෝලයක් හෝ බැදුමක් ආකාරයටත් සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්. ඒ වගේම මෝරපු කරල් ඇතුලෙ තියෙන මාංශමය කොටස ඉතා ප්‍රණීත මාළුවක් ආකාරයට හෝ බැදුමක් ආකාරයට හෝ සකස් කරගන්න පුළුවන්. පැලඉනි වැටට කොට්ට මුරුංග කෝටුවක් හිටවීමෙන් වස විසෙන් තොර ආහාරයක් වශයෙනුත්, පරිසර හිතකාමී ශාකයක් වශයෙනුත්, අනාගත පරපුරට වටිනා ඖෂධයක් වශයෙනුත් දායක වෙන්න පුළුවන්.

**රතු පෙතං** - හොඳින් තෙතමනය තියෙන තෙත් කලාපයෙත්, හෙවණ තියෙන තැන්වලත් බහුලව දකින්න පුළුවන්. වල් පැළෑටියක් විදිහට සළකල අත්හැරල දාල තිබුනත් ඖෂධීය ගුණ අතින් ඉතා ඉහලයි. දිය පෙතංවලට සමාන හැඩයක් තිබුනත් කොළය ඊට මඳක් විසාලයි. දණ්ඩ සහමුලින්ම රතු පාටින් යුක්තයි. දිය පෙතංවල වගේම මල් හට ගන්නවා.

ඖෂධීය ගුණ ගත්තොත් ශරීරයේ සියලු රුධිර නාල සක්‍රීය කරවනවා. **ලේ නහර තුල මේදය හට ගැනීම නිසා ඇති වන අවහිරතා වහා මග හරවනවා.** ඇට මිදුළු ශක්තිමත් කරවනවා. මේදය තැන්පත් වෙලා තියේ නම් ඒවා ක්‍රමානුකූලව දිය කර හරිනවා. රුධිර පීඩනය සමතුලිත කරන නිසා අධි රුධිර පීඩනය සහ අව රුධිර පීඩනය තියෙන අයටත් ඉතා ගුණදායකයි. මාස් සුද්ධියේදී අධික ලේ වහනය වන අයටත්, අර්ශස් රෝගයේදී අර්ශස් ගෙඩි පුපුරල ලේ ගලන අයටත් ඉතාමත් යෝග්‍යයි. මළ බද්ධය දුරු කරනවා. අම්ල පිත්ත ප්‍රදාහය නිසා ශරීර අභ්‍යන්තරයේ තුවාල තියේ නම් ඒවාත් සුව කරනවා. තුන් දොස් සමනයට උපකාරී වෙනවා.

සාමාන්‍යයෙන් සාරණ, නිවිති ව්‍යංජනයක් සකස් කරන ආකාරයටත්, පලා සම්බෝලයක් විදිහටත්, මැල්ලුමක් හෝ කැඳක් ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

සටහන

**නිතිශ චන්දන සිරිවර්ධන**









# වකුගඩු අක්‍රිය වීම ඇතුළු

## තවත් රෝග රැසකට සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගයට ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප තුනෙන් (88, 89, 90) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු අක්‍රිය වීම ඇතුළු ඒ ආශ්‍රිත රෝගවලටත්, තවත් රෝග රැසකටත් උන්වහන්සේ විසින්ම බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රබල ප්‍රත්‍යක්ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක්.

මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍ය ප්‍රමාණයන් එක්තරා අනුපාතයකට සඳහන් කරල තියෙන නිසා, තමන්ට අවශ්‍ය පරිදි ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ වගේම ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත් මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරල තියෙන දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. **පින්වතුන්ගේ පහසුව පිණිස මේ ප්‍රබල බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.**

ඒ වගේම විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, **මේ වගේ ප්‍රබල රෝගවලට කර්ම විපාකත් මුල් වෙන නිසා ඒවාට බෙහෙත් කරන්න පෙර ඒ කර්ම වේග යම් පමණකට හෝ ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම අනුගමනය කරන්න** (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට **අනන්ත සසරෙ පටන් තෙරුවන් ඇතුළු ගුණ වඩපු උත්තමයින්ටත්, අන්‍ය සත්වයින්ටත් වෙච්ච අවැඩ අසාධාරණවලට විපාක විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න.** මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දැනටත් පසළොස්වක, අමාවක පොහොය දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාවත්, හැම මාසයකම 1 වෙනි සහ 3 වෙනි සෙනසුරාදා දිනවල විශේෂ ආශිර්වාද පූජාව සහ විශේෂ පුණ්‍යානුමෝදනාවත් ඇතුළු තවත් සාසනික වත්පිළිවෙත් සිද්ධ කෙරෙන නිසා, ඒවාට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන හේතු ඵල අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

### තද හිර සමන අරිෂ්ටය

මේ අරිෂ්ටය වකුගඩු රෝගීන්ට අත්‍යවශ්‍යයෙන්ම සුදුසු අරිෂ්ටයක්. ඒ හැරුනම දැනට කිසිම කායික රෝගයක් නැති කෙනෙකුට වුනත් මේ අරිෂ්ටය ගැනීමේ කිසිම වරදක් නෑ. මොකද මතුවට හට ගන්න තියෙන රෝගයක් වුනත් යම් තාක් දුරකට අහෝසි වෙන්න පුළුවන්. ශරීරයේ සියලු පද්ධතිවල බැඳිල තියෙන සියලු කාරම් ක්‍රමානුකූලව දිය කරල තුන් දොස් සමනය කරල සියලු පද්ධති යථා තත්වයට පත් කිරීමේ හැකියාවක් මේ අරිෂ්ටයට තියෙනවා.

අද තියෙන වෛද්‍ය විද්‍යාවෙන්, ග්‍රන්ථි තුල තියෙන විස අපද්‍රව්‍ය ඉවත් කරන ක්‍රමවේදයක් නෑ. එහෙම තියෙනව නම් පිටියුටරි ග්‍රන්ථියේ

අක්‍රියතාවයන් නිසා හට ගන්නා දියවැඩියාවත් සුව කරන්න පුළුවන් වෙන්න ඕන. නමුත් මේ වෙනකල් එහෙම ක්‍රමයක් හොයාගෙන නෑ. ඒ වගේම තයිරොයිඩ් ග්‍රන්ථියේ අක්‍රමිකතාවයන් නිසා බෙල්ලේ හට ගන්නා ගලගණ්ඩය / වායු ගෙඩි කපන්නෙ කොටන්නෙ නැතිව සුව කරන්න පුළුවන් වෙන්න ඕන. නමුත් එහෙම ක්‍රමයක් දැන් තියෙන වෛද්‍ය විද්‍යාවෙ නෑ. මේ අරිෂ්ටයෙන් ඒ ආබාධත් සුව කරගන්න පුළුවන්. ඒ වගේම දැන් තියෙන ප්‍රයෝග විපත්ති නිසා ඇසේ සුද, දියවැඩියාව හටගෙන තියෙන අවස්ථාවක ඒ හේතුවෙන් ඇති වෙන පෙනීමේ දුර්වලතා වැළැක්වීමේ බලයක් මේ අරිෂ්ටය සතුයි.

ඒ නිසා හැම රෝගයකටම ශරීරය කපන්න කොටන්න යන්නෙ නැතිව, බුදුන් වහන්සේ පෙන්වා වදාළ හේතු ඵල දහම අනුව, මනුස්සයාට වැළඳෙන්නා වූ අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරාවන් සඳහා බුද්ධ පුත්‍රයෙක් විසින් ලොවට දායාද කළ සාසනික ප්‍රතිකර්මත් සමග කෙරෙන කිරණමය වෙදකමක් තමයි මේ හඳුන්වා දෙන්නෙ.

ශරීරයේ සියලු ග්‍රන්ථි තුල තියෙන සියලු අපද්‍රව්‍ය ඉවත් කරල යථා තත්වයට පත් කිරීම සඳහාත්, මුළු ශරීරයේම ඇට මිදුළු ආශ්‍රිතව හට ගන්නා ආතරයිටීස් ඇතුළු සියලු රෝගවලටත්, විස අපද්‍රව්‍ය තැන්පත් වීමෙන් අක්‍රිය වෙලා තියෙන වකුගඩු ප්‍රකෘතිමත් කරන්නත්, සියලු වයස් සීමාවල කාන්තාවන්ගේ ප්‍රජනන පද්ධතිය ආශ්‍රිත සියලු රෝග සඳහාත් මේ අරිෂ්ටය ප්‍රත්‍ය වෙනවා.

අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගත් ආමාශයේ සහ බඩවැල්වල තුවාල, හදිසි අනතුරු නිසා හට ගත් සියලු බාහිර සහ අභ්‍යන්තර තැලීම් තුවාලත් සුව කරනවා. කඳුලු ග්‍රන්ථි වියළීම හේතුවෙන් ඇසේ සිවි පටල වියළීම නිසා ඇති වන අන්ධ බව, ඇසේ සුද නිසා ඇති වන අන්ධ බව සුව වෙනවා. කනේ කර්ණපටහ පටලය ඝන වීමෙන් හෝ කලාඳුරු ආදිය බැඳීමෙන් හෝ අස්ථි අධිකව වර්ධනය වීම නිසා හට ගන්නා බිහිරි බව සුව වෙනවා. උගුරේ ස්වර තන්ත්‍ර ඝන වීමෙන් සෙම බැඳිල ගල් වීමෙන් ඇති වෙන හඬ පිට නොවීම, අසාමාන්‍ය ලෙස ඇතිවෙන ඉක්කාව, ස්වර තන්ත්‍ර හරියට ක්‍රියාත්මක වීම නිසා සුව වෙනවා. අනවශ්‍ය විදිහට මේදය තැන්පත් වීම නිසා ඇතිවෙන තරබාරු බව අඩු කරනවා.

ඒ වගේම මස් දියවීමේ රෝගය නිසා සියලු සන්ධි ප්‍රදාහයට ලක් වෙනවා. සමහර වෙලාවට සන්ධි ප්‍රදාහයට ලක් නොවී බිඳීම්වලට ලක් වෙනවා. ඒ සඳහා බටහිර වෛද්‍ය විද්‍යාවෙ නිශ්චිත බෙහෙතක් නෑ. නමුත් මේ අරිෂ්ටයෙන් ඒ රෝගී තත්වයන් සුව කරගන්න පුළුවන්. හැබැයි ගර්භනී මව්වරුන් කිසි විටෙකත් මේ අරිෂ්ටය නොගත යුතුයි. මොකද ගබ්සා වෙන්න වැඩි ඉඩකඩක් තියෙන නිසා.

පහත දැක්වෙන්නෙ මේ කියන කිරණමය අරිෂ්ටය සකස් කරගන්නා ආකාරය. මේ අමුද්‍රව්‍ය සියල්ලම අමුවෙන් ගත යුතුයි.

<u>අවශ්‍ය අමුද්‍රව්‍ය</u> :- ගඩුගුඩං ගෙඩි කිලෝ 1.6 යි (ඇඹුල් සහිත ගැට වඩා හොඳයි.), ගම්මිරිස් ඇට, නම්නං කොළ, බුරුල්ල දළු සහ ළපටි කොළ, පාවට්ට කොළ, පුවක් කොළ, හල් පොතු යන මේ අමුද්‍රව්‍ය අමු බරින් ග්‍රෑම් 400 බැගින්, කිතුල් පිටි ග්‍රෑම් 400 යි.

කිතුල් පිටි හැර ඉතිරි සියල්ල හොඳින් හෝදගෙන කපාගෙන කිතුල් පිටිත් එක්ක සියල්ලම කොටාගන්න. ඒ සඳහා යකඩ භාවිතා නොකරන්න. සුදු යකඩ පිහි සහ ලී, ගල් වංගෙඩි විතරක් භාවිතා කරන්න. මිශ්‍රණ යන්ත්‍රයක් භාවිතා කරන්නත් පුළුවන්. මෝල් ගහක් භාවිතා කරනව නම් විල්ල නැති පැත්තෙන් කොටා ගන්න. මොකද මේ බොහොමයක් දේවල් ඇඹුල් සහිත නිසා යකඩ මිශ්‍ර වුනොත් ප්‍රතික්‍රියා කරල ඖෂධයේ ශක්තිය බාල වෙනවා.

දැන් මේ විදිහට කොටාගත් සියලු අමුද්‍රව්‍ය මැටි හෝ තඹ හෝ සුදු යකඩ හෝ පිත්තල හෝ භාජනයකට දමා ඒ මිශ්‍රණයට වතුර බෝතල් 26 ක් එකතු කරල 20.8 කට හිඳගෙන පෙරාගෙන එන කසාය මිශ්‍රණයට පහත අමුද්‍රව්‍ය හොඳින් වේළගෙන කුඩු කරගෙන ඒ කුඩු බර එකතු කරන්න.

<u>වේළා ගත් අමුද්‍රව්‍ය</u> : වියළි කැප්පෙටිය මුල් කුඩු ග්‍රෑම් 400 යි, නාමල් රේණු කුඩු ග්‍රෑම් 100 යි, වියළි අක්කපාන කොළ කුඩු ග්‍රෑම් 100 යි, සුදුරු කුඩු ග්‍රෑම් 100 යි, මහදුරු කුඩු ග්‍රෑම් 100 යි, කළුදුරු කුඩු ග්‍රෑම් 100 යි, වියළි බෙලි මුල් හෝ මල් කුඩු ග්‍රෑම් 100 යි, වියළි මුරුංග පස් පංගුව එක වර්ගයකින් කුඩු ග්‍රෑම් 50 බැගින් (මුල්, පොතු, කොළ, මල්, ඇට).

මේ සියල්ල කුඩු කරල කසායට එකතු කරල ඒකට හොඳින් නටවා නිවා ගත් වතුර බෝතල් 15 ක් දමන්න. ඒ ද්‍රාවණයටම වතුර නොදා ගෙඩිය සහමුලින්ම කොටා ගත් කැකිරි ඉස්ම බෝතල් 2 යි, බියර් බෝතල් 2.5 යි, වතුර නොදා උක් ඉස්ම බෝතල් 6.5 යි (කළු උක් ගස් පමණයි. මුල් හැර කොළ, පොතු... ආදී ඉතිරි සියල්ල කොටාගෙන එන ඉස්ම), තල් සූකිරි කිලෝ 7.8 යි එකතු කරල හොඳින් මිශ්‍ර කරල කනක්කයක හෝ වෙනත් සුදුසු භාජනයකට දමා දින 28 ක් තියල අරිෂ්ට කරගෙන පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් ගන්න.

මේ ඖෂධය ශරීර ගත වුනාට පසු දවස් 3 ක් විතර යනකල් කිසිම ගුණ අගුණ ස්වභාවයක් තේරෙන්නෙ නෑ. නමුත් දින 3 කින් විතර පසු පැහැදිලි වෙනසක් දකින්න පුළුවන්.

**මොළේ ගෙඩි, නහර හිර වීම නිසා හට ගත් අප්‍රාණිකත්වයට, සියලු තැලුම් ආබාධවලට, හදිසි අනතුරුවලට භාජනය වීමෙන් ඇති වූ නිල තැලුම් සුවයට මාස 6 ක් ගන්න. ශරීරයේ අභ්‍යන්තර සහ බාහිර සුව නොවන සියලු තුවාල සඳහා දින 7 යි.**

**හදිසි අනතුරුවලින් හෝ ප්‍රයෝග විපත්තිවලින් එන උගුර, ඇස, කන යන ඉන්ද්‍රියන්ගේ අක්‍රියතාවය නිසා හට ගත් අඳ ගොලු බිහිරි ආබාධවලට මාස 3 යි.**

**මස් දිය වන ආබාධයට, තැලසීමියාව සහ හීමෝෆීලියාව සුවයට මාස 9 යි.**

**වකුගඩුවේ වෘක්කාණු පටලවල අපද්‍රව්‍ය බැඳිල නිසි පරිදි ක්‍රියාත්මක නොවීමෙන් හට ගන්නා වකුගඩු ආබාධ, මුත්‍රාශයේ, වකුගඩුවල, පිත්තාශයේ ගල් දියවීමට, සියලු ග්‍රන්ථිවල අපද්‍රව්‍ය ඉවත් වීමට සහ ඉදිමුමට, මාංශ පේෂීන්ගේ වාතය තැන්පත් වීමෙන් ඇතිවෙන ඇඹිලෙන බව, මාංශ සිවි වියළීමෙන් ඇතිවෙන කොර ආබාධවලට, ඇට (අස්ථි) සිවි වේළීමේ, කොඳු ඇට පෙළේ, තුනටියේ, හන්දිපත්වල ආබාධවලට (ආතරයිටීස් ඇතුළු) මාස 6 දක්වා සුදුසු පරිදි දෙන්න.**

**ප්‍රයෝග විපත්ති නිසා හටගෙන තියෙන සියලු දියවැඩියා ආබාධ සුවයට, සියලු ඉන්ද්‍රියන්ගේ බැඳිල තියෙන සියුම් අපද්‍රව්‍ය ඉවත් වෙලා ප්‍රකෘතිමත් වීමට මාස 6 යි.**

**ඇට මිදුළු ක්‍රියාකාරීත්වයට පත් කිරීම තුලින් රුධිරානු නිෂ්පාදනය ශරීරයට අවශ්‍ය ප්‍රමාණයට සිද්ධ**

**කර හදවත සහ පෙණහළු නිසි පරිදි ක්‍රියාත්මක වීමට, ඒ මගින් රුධිර පීඩනය සමතුලිත කිරීමට මාස 6 යි.**

## කාරම් සමන අරිෂ්ටය



රුධිරයේ තියෙන සියලු කාරම් සහිත අපද්‍රව්‍ය ආමාශයට සහ බඩවැලට අද්දවල පිරිසිදු කිරීම මේ ඖෂධයේ ප්‍රධාන කාර්ය වෙනවා. වකුගඩු අක්‍රිය වීම නිසා රුධිරයට එකතු වන අපද්‍රව්‍ය වහා ඉවත් කරනවා. ඒ මගින් හදවතට සිද්ධ වෙන හානි අවම වෙනවා. වකුගඩු අක්‍රිය වීමේ රෝගය සඳහා අද බටහිර වෛද්‍ය විද්‍යාවෙන් කෙරෙන රුධිර කාන්දු පෙරන ක්‍රියාවලිය හා සමාන දෙයක් මේ අරිෂ්ටය මගින් සිද්ධ වෙනවා. වකුගඩු රෝගියෙකුට බටහිර වෛද්‍ය විද්‍යාව අනුව නම්, වකුගඩුවක් බද්ධ කරන කල් හෝ පෙර තිබ්බ්ච වකුගඩුව යථා තත්වයට පත් වෙනකල් හෝ මියයනකල් හෝ රුධිර කාන්දු පෙරනය සිද්ධ කළ යුතුයි. නමුත් ඒක ඉතා වේදනාකාරී වගේම අධික වියදම් යන කටයුත්තක්. දැඩි ආර්ථික අපහසුතා තියෙන අසරණ රෝගීන්ට මරණය පෙනි පෙනී දැඩි මානසික අසහනයකින් ඒ තත්වයට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. මේ අරිෂ්ටය ඒ වගේ රෝගීන්ට මහත් අස්වැසිල්ලක්.

වකුගඩු රෝගීන් බොහෝ විට මියයන්නෙ හදවතට හානි වීම නිසා. වකුගඩුව තුළින් නිසි පරිදි රුධිරය පෙරෙන්නෙ නැති වෙනකොට රුධිරයේ අපද්‍රව්‍ය ප්‍රමාණය ඉහල යාම නිසා හදවත අධි ක්‍රියාකාරී වෙනවා. එතකොට හදවත ඉදිමීමට හෙවත් ප්‍රදාහයට පත් වෙනවා. මේ වගේ අවස්ථාවක් එනකොට රුධිර පීඩනය ඉහල යනවා. මේ කියන තත්වයන් මේ අරිෂ්ටය මගින් යථා තත්වයට පත් කරගන්න පුළුවන්.

වකුගඩු රෝගියෙකුට ආහාර අරුචිය ඇති වෙනවා. බෙත් පවා ගන්න අප්‍රිය වෙනවා. ඒ තත්වය උත්සන්න වෙනකොට වමනය, ඔක්කාරය ආදී තත්වයන් පෙන්නුම් කරනවා. මේ අරිෂ්ටය මගින් ඒ අපහසුතාවයන් දුරු වෙනවා. ආහාර සහ බෙහෙත් ශරීරයට ප්‍රත්‍ය වෙන්න පටන් ගන්නවා.

රුධිරයේ අපද්‍රව්‍ය ඉහල යනකොට වකුගඩු රෝගියෙකුගේ ශරීරය ඉදිමෙන්න ගන්නවා. මුලින්ම කකුල්වල පිටි පතුලෙන් පටන් ගෙන කාලයක් යනකොට මුළු මහත් ශරීරය පුරාම විහිදිලා යනවා. එතකොට රෝගියාට මුළු ශරීරයේම මස්පිඩුවල දැඩි වේදනාකාරී බවක් ඇති වෙනවා. මේ අරිෂ්ටය දින 5 - 6 ක් එක දිගට ගන්නකොට ඒ සියලු වේදනා දුරු වෙලා යනවා.

අණ්ඩ වාතය තියෙන අයටත් මුලින් මාසයක් විතර පාවිච්චි කරල අඩු වෙන ප්‍රමාණය බලාගෙන ඒ අනුව තවත් කාලයක් පාවිච්චියට ගැනීමෙන් ඒ තත්වය සුව කරගන්න පුළුවන්.

ඒ වගේම කාන්තාවන්ගේ ප්‍රජනන පද්ධතිය ආශ්‍රිත අසංතුලතා නිසා දරු එල නොලැබීමට හේතු යෙදිල තියෙනව නම් ඒ වගේ තත්වයන් යථා තත්වයට පත් කරගන්න ආධාර වෙනවා. මීට අමතරව මේ මගින් තවත් රෝගාබාධ රාශියක් නිට්ටාවට සුව කරගන්න පුළුවන්. **කිසිම අතුරු ආබාධයකින් තොර නිසාත්, වෙනත් කෘතිම බෙහෙත් සමග ප්‍රතික්‍රියා කරල අපත්‍ය වෙන්නෙ නැති නිසාත් ඕනෑම කෙනෙකුට පාවිච්චි කරන්න පුළුවන්.**

<u>සාදා ගන්නා ආකාරය</u> :-

මිදි මුල්, පලොල් මුල්, ඇත් දෙමට මුල්, බෙලි මුල්, රසකිඳ, වෙනිවැල් ගැට. මේ සියල්ල වියළි බරින් අරගෙන කොටාගෙන (කෙටූ පසු මේ හැම අමුද්‍රව්‍යයකින්ම ග්‍රෑම් 25 බැගින් තිබිය යුතුයි.) වතුර බෝතල් 16 ක් දමා 12 ට හිඳගෙන පෙරාගන්න.

ඉන්පසු වියළි හීන් අරත්ත කුඩු සහ වියළි කරපිංච නැටි කුඩු ග්‍රෑම් 20 බැගින්, ඇට ඉවත් කළ සියඹලා කිලෝ ග්‍රෑම් 2 ක් ඉහත කසායෙන් හොඳින් දිය කරගන්න. දිය කර ගත් බොරයට සුදු සූකිරි ග්‍රෑම් 500 යි, සහිඳ ලුණු කබලේ ගිනියම් කරල ග්‍රෑම් 40 යි, පොල් රා බෝතල් 4 යි, කුඩලු දෙහි ඉස්ම මි. ලී 100 යි, හොඳින් නටවා නිවා ගත් උණු වතුර බෝතල් 2 ක් (මි. ලී. 1,500 ක්) මිශ්‍ර කරගන්න. මේ සියල්ල හොඳින් මිශ්‍ර කරල දින 28 ක් කනක්කයක හෝ සුදුසු භාජනයක බහා අරිෂ්ට කරගෙන පෙරා ගන්න.

ඉන්පසු දෙවන වරට මේ කාරම් සමන අරිෂ්ටයට වතුර බෝතල් 25.5 ක් දමා ඒ සියල්ල 20.4 ට හිඳගෙන නිවුනට පසු පෙරාගෙන, හොඳින් නටවා නිවා ගත් උණු වතුර බෝතල් 2.4 ක් නැවත එකතු කරල, ඇට ඉවත් කළ සියඹලා කිලෝ 2 ක් එකතු කරන්න. ඒකට සුදු සූකිරි කිලෝ 8.5 කුත් එකතු කරල හොඳින් දිය කර ගෙන පාවිච්චියට ගන්නෙ.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 1 1/2 බැගින් මාස 1 ක් හෝ 1 1/2 ක් හෝ ගන්න. ඒ ප්‍රමාණය සෑහෙනවා.

මේ මගින් ලේවල තියෙන කාරම් බඩට ඇදිල ඇවිත් ලේ සුද්ධ වෙනවා. සියලු නහර සුද්ධ කරල සක්‍රිය කරනවා. ලේ නහර තුල රුධිර කැටි ගැසීම වැළැක්වීමෙන් ආඝාතය ඇතිවීම වළක්වනවා. රුධිරය වගේම රුධිර නාලත් යථා තත්වයට පත් කරන නිසා කොලෙස්ටරෝල් තියෙන අයටත් යෝග්‍යයි. මහ බඩවැල සක්‍රිය කරනවා.

මේ අරිෂ්ටය මාසයක් ගත්තම මාස 3 ක් ශරීරය තුල ක්‍රියාත්මක වෙනවා. ඒ නිසා මාසයක් තුල යම් තරමකට රෝගය සමනය වුනා නම් තවත් මාස 3 ක් යනකොට රෝගය සුව වීමේ ලකුණු රෝගියාට දැනෙනවා. වකුගඩු, මුත්‍රාශය, පිත්තාශය යන තුන් පොලේ ඇති ගල් ක්‍රමයෙන් දිය වෙනවා. **අඩක් දුර්වල වෙච්ච වකුගඩු ප්‍රකෘතිමත් වෙනවා. අංශභාග, නහර මාංශ පේශි එකට හිර වීමෙන් ඇති වෙන කොර ආබාධ, ඒ නිසා එන සියලු මස් පිඬු වේදනා... ආදී ආබාධ සුව වෙනවා. නහර ගැට ගැසීමේ රෝගීන්ටත් ඉතා සුදුසුයි. වකුගඩු ආබාධ සුවයට ආධාර වෙනවා. පුරස්ථි ග්‍රන්ථි, අණ්ඩවාත, ඩිම්බ ආශ්‍රිත ආබාධ සුව වෙනවා.**

(සැ. යු. : හදවත දුර්වල සහ අධි රුධිර පීඩනය තියෙන රෝගීන් සඳහා කුඩලු දෙහි ඉස්ම මි. ලී. 100 වෙනුවට වතුර නොදා දෙහි ඇඹුල් මි. ලී. 100 ක් සහ හොඳින් වියළා කුඩු කර ගත් තිප්පිලි කුඩු ග්‍රෑම් 25 ක් එකතු පළමු වර කරල අරිෂ්ටය සාදා ගැනීමෙන් ඒ තත්වය සුව වෙනවා.)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

06

අපි ආසා කරන දේවල් නැති වෙනකොට, එහෙම නැත්නම් රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කියන පංචකාම වස්තු ශාන්තයි ප්‍රණීතයි කියල භුක්ති විඳින්න ගිහින්, ඒවා තමන් කැමති විදිහට පවත්ව ගන්න උත්සාහ කරනකොට, වැනසිලා යනකොට, වනසල දානකොට ඇතිවෙන දුකද, දුක්ඛ ආර්ය සත්‍යය කියල අපි මෙච්චර කාලයක් හිතාගෙන හිටියෙ කියන කාරණය විමසල බලන්න ඕන.

එහෙනම් ආර්යන් විසින් දකින දුක්ඛ ආර්ය සත්‍යය කොහොමද තෝර ගන්නෙ? ඇයි ඒ දුක්ඛ ආර්ය සත්‍යය අබුද්ධෝත්පාද කාලයක දකින්න නැහැ කියන්නෙ? ලොව්තුරා බුදු පියාණන් වහන්සේ නමක් හෝ උන්වහන්සේගෙන් අහගෙන අවබෝධ කර ගත්ත, එහෙම නැත්නම් ඒ කළණ වැට හරහා අවබෝධ කර ගත්ත ආර්ය ශ්‍රාවකයෙක් දේශනා කරන ධර්මය තුලින්ම, ඒ ධර්මය ශ්‍රවණය කරල අර්ථවත්ව තේරුම් ගන්න කෙනෙකුටයි ඒ විශේෂ දුක්ඛ ආර්ය සත්‍යය වැටහෙන්නෙ කියල කියන්නෙ ඇයි? අනික් අයට නොවැටහෙන ඒ විශේෂ දුක්ඛ ආර්ය සත්‍යය මොකක්ද?... මේ කියන කාරණා ධර්මානුකූලව හොයල බලල තේරුම් බේරුම් කරගන්න කල්, මමත් චතුරාර්ය සත්‍යය අවබෝධ කර ගත්ත කෙනෙක් කියල ලෝකයට කියන්න අපිට පුළුවන්කමක් නෑ. එහෙම කිව්වට හරියන්නෙ නෑ. ඒක අපේ නිගමනයක් විතරයි. දැන් මේ කාරණය උදාහරණයකින් පැහැදිලි කර ගනිමු.

අවුරුදු දෙකේ තුනේ පුංචි ළමයි පිරිසක් ඉන්නවා. ඒ පිරිසත් මේ ලෝකෙ යම් යම් දේවල්වලට කැමතියි. ලෝකෙ තියෙන යථාර්ථය දැක්කෙ නැතුවට ඒ අයත් ප්‍රිය මනාප කරන දේවල් තියෙනවා. අපි ඒ ළමයින්ට යම් කිසි කාරණා 2 ක් ඉදිරිපත් කරනවා. මේ එක එක ළමයට ලියල දෙන්න හොඳ ගෙවල් දොරවල් සහිත ඉඩම් කැල්ලක් එක්ක ඔප්පු මිටියක් තියෙනවා. ඒ වගේම චොක්ලට් මිටියකුත් තියෙනවා. දැන් මේ ඔප්පු මිටියයි, චොක්ලට් මිටියයි අරගෙන ගිහින් මේ ළමයින්ගෙන් ඇහුවොත්, පුතාලට දුවලට මේ වර්ග දෙකෙන් මොනවද ඕන කියල, කොච්චර වටිනවයි කිව්වත්, ලක්ෂ කෝටි ගණන් වටිනවයි කිව්වත්, අර පුංචි ළමයි, අපිට ඒ ඔප්පු ටික දීල යන්න චොක්ලට් එපා කියයිද? එහෙම නැත්නම්, චොක්ලට් ටික දීල යන්න ඔය කඩදාසි කෑලිවලින් අපිට වැඩක් නෑ කියයිද?

මෙන්න මේ කාරණය හිතල බලනකොට වැටහෙනවා, අර ලාබාල මනසට, රස තෘෂ්ණාවට ගිජු වෙච්ච දේ හොඳට පේනවා කියන කාරණය. ඊට වඩා වටින දෙයක් හැටියට කොච්චර පෙන්නුවත්, ඒකෙ ඒ තමන් හොයන රස පේන්නෙ නැත්නම්, රස දැනෙන්නෙ නැත්නම්, ඒ අයට ඒකෙ වටිනාකමක් නෑ. අන්න ඒ නිසා අර චොකලට් ටික ඔප්පු ටිකට වඩා වටිනවයි කියල නිගමනය කළේ යථාර්ථයකින් නෙවෙයි. රස තෘෂ්ණාවට ගෝචර වෙලා, අර චොකලට් පෙත්තෙ වටිනවයි කියල නිගමනය කරගත්ත දෙයක් තිබුනා. නමුත් ඒ වගේ චොකලට් පෙති ලක්ෂයකට, දස ලක්ෂයකට වැඩිය වටින, ඒ වගේම ඊට වඩා මනුස්සයෙක් වශයෙන් ලෝකයේ ජීවත් වෙන්න වැදගත්කමක් තියෙන ඉඩම් කෑල්ලයි ගෙයයි සහිත ඔප්පුව ඒ ළමයින්ට ගන්න කියල දුන්නත් ඒකට කැමති නෑ. අර චොකලට් ටික දෙන්න හදල ඒක දෙන්නෙ නැතිව, ඔය ළමයින්ට ඕවා දැන් තේරෙන්නෙ නෑ, පස්සෙ කාලෙකදි තේරෙයි, මෙන්න මේ ඔප්පුව තියා ගන්න දුවේ පුතේ කියල අර ඔප්පු ටික අත්සන් කරල දීල ගියොත්, ඒ ළමයි එතැන් පටන් දුක් වෙන්න ගන්නවා, අනේ අපිට වටිනවයි කියල රවට්ටල කඩදාසි කෑලි ටිකක් දීල ගියා චොකලට් දුන්නෙ නෑ කියල. මේ තමයි ඒ බාල ලෝකෙ ස්වභාවය. එහෙනම් අපි තේරුම් ගන්න ඕන, එබඳු ස්වභාවයක් අපිට පේනවා, විද්‍යමානයි කියන කාරණය.

දැන් ඔහොම යද්දි ඔය ළමයි ලොකු මහත් වෙනවා. අවුරුදු 20 - 30 ක් ගියාට පස්සෙ අර විදිහටම කෙනෙක් ඇවිත් අහනවා, ඔප්පු ටික ඕනද චොකලට් ඕනද කියල. දැන් අර පුංචි කාලෙ දුන්න වගේ උත්තරයක් දෙයිද? මේ ගැන හිතල බලන්න ඕන. අපි නිගමනය දුන්නෙ කොහොමද? මුලාව නිසා,

බාලකම නිසා එක තීරණයක් දුන්නා. වටිනා දේ අහක දාල නොවටිනා දෙයක් වටිනවයි කියල බදාගත්තා. ඒ වගේම නොවටිනා දේ වැනසෙන කොට දුක් වුනා. වටින දේ වැනසුනත් එකයි නැතත් එකයි ඒකෙන් දුකක් හට ගන්න මානසිකත්වයක් ඒ ලාබාල මනසට තිබුනෙ නෑ. එහෙනම් අපි ඒ ලාබාල මනසකට උපමා කරල පෙන්නුව හැටියට "අන්ධෝ බාලෝ පුතුජ්ජනෝ - පෘතජ්ජනයො අන්ධයි බාලයි" කියල බුදු පියාණන් වහන්සේ පෙන්වා තියෙනවා.

එහෙනම් පෘතජ්ජනයා කිව්වෙ කවුද? පංච කාම සම්පත්තිය අග්‍ර කරගෙන, මේ පංච කාම ආස්වාදය වටිනවා, ශ්‍රේෂ්ඨයි, ශාන්තයි, ප්‍රණීතයි, හොඳයි කියල නිගමනයක් අරගෙන, ඒකෙ යථාර්ථය යථා ආකාරයෙන් දකින්නෙ නැති එබඳු වන්නා වූ ඒ පිරිස මොකද කරන්නෙ, අන්න අර චොකලට් ඉල්ලන පුංචි ළමයින්ගෙ ආසාව වගේ පංච කාම සම්පත්තිය නමැති චොකලට්වලට ආසා කරනවා. එහෙනම් මොනවද ඔප්පු කිව්වෙ? නිවන් මග නමැති ධර්මය ඔප්පු වශයෙන් ගෙනත්, මෙන්න මේක ගන්න ඔයිට වඩා හොඳයි කිව්වොත්, ඒ පංච කාමයන්ගෙන් වෙන් කරන වීතරාගී, වීතදෝසී, වීතමෝහී ශාන්ත ප්‍රණීත වන්නා වූ යහපත් ගුණයක් තියෙනව නම් ඒක දැකල නෑ. ඒක තේරුම් ගන්න නුවණක් නැත්නම්, වටහා ගන්න බැරි නම් මොකද කරන්නෙ? ඒ ධර්මය නමැති ඔප්පුව නොවටිනා දෙයක් විදිහට සළකල පැත්තකට දාල පංච කාමය නමැති චොකලට් පෙත්තට දඟලනවා. එහෙනම් මෙතැනදි අපි දකින්න ඕන, මෙන්න මේ නිසා තමයි සාමාන්‍ය ලෝක සත්වයාට ආර්යන් විසින් දකින දුක දකින්න බෑ කියල කිව්වෙ කියන කාරණය.

එහෙනම් මොනවද ඒ අය දකින්නෙ? පංචකාම සම්පත් නැති නිසා විඳින්න සිද්ධ වෙන යම් දුකක් තියෙනව නම් අන්න ඒක තමයි ලෝක සත්වයා දකින දුක. එහෙනම් දැන් අපි දැනගන්න ඕන, එහෙම දුකක් දකිනකොට අපි කොහොමද දුක්ඛ ආර්ය සත්‍යය දැක්කෙ, දුක්ඛ ආර්ය සත්‍යය කියන්නෙ මොකක්ද, ඇයි ආර්ය කියන්නෙ... කියන මේ කාරණා. දැන් මේකෙ පද නිරුක්තිය දැක්කෙ නැත්නම් මේ පදවලින් පෙන්වන දහම් අර්ථය දැකගන්න බැරිව යනවා. රියෙන් කරන්නෙ මොකක්ද? ගමනක් යනවා. සසර කතරේ ගමන් කරනවා. රිය අරිය වුනාම මොකද වෙන්නෙ? ගමන නවත්වනවා. එහෙනම් ගමන නවත්වන්න ගන්නෙ මොකක්ද? අරිය. ගමනට ගන්නෙ මොකක්ද? රිය.

දැන් මේ පෙන්නුවෙ උපමාවක්. මෙන්න මේ උපමාවෙන් අපි දැනගන්න ඕන මොකක්ද කරන්නෙ කියල. මේ දුක්ඛ අරිය සත්‍යය කොහොමද දැනගන්නෙ? මේ සසර ගමන නවත්වන්න හේතු වන, ඒ සඳහා දැනගත යුතු දුකක් තියෙනවා. අන්න ඒක දැනගත්ත නම් එදාට කියනවා දුක්ඛ ආර්ය සත්‍යය දැනගත්ත කියල. හොඳින් තේරුම් ගන්න ඕන, සසර ගමන නවත්වන්න එක දුකක් දැකීම හේතු වෙනවා. ඒ වගේම තව දුකක් තියෙනවා, ඒක සිහි කරනකොට සසර ගමනෙ පැවැත්මට හේතු වෙනවා. පංච කාම සම්පත් නමැති ආසාවන්ට ගිජු වෙලා ඒ ආසාවන්ට රහ වැටිල ඒ ආසාවන් ලබා ගැනීමේ බලාපොරොත්තුවෙන්, ඒවා නැතිකම නිසා ඇතිවෙලා තියෙන දුක නැවත නැවත මෙනෙහි කරනකොට මොකක්ද වෙන්නෙ? ඒ දුකෙන් වෙන් වෙලා දකින සැනසිල්ල හැටියට නැවතත් දකින්නෙ මොකක්ද? අර පංච කාම සම්පත්තියම සැපයි කියල.

මේ නිසා ලෝක සත්වයා, ලෝක සම්මතයේ තියෙන පංච කාම සම්පත්තිය නැතිවෙනකොට හට ගන්න දුකට ළතැවෙන්න පටන් ගන්නවා. අනේ මේව දුකයි කියල කතාවට කිව්වත්, ඒ දුක නිගමනය කළෙත් අවිද්‍යා සහගතවමයි. මොකද පංච කාමයෝ ප්‍රියයි මනාපයි යහපතයි කියල නිගමනය කළේ ඇත්ත ඇති ආකාරයෙන් දැකල නෙවෙයි. විද්‍යාවෙන් නෙවෙයි. අවිද්‍යාවේ නිගමනයක්. අන්න ඒ නිගමනයට යම් කිසි කෙනෙක් බැස්ස නම්, යම් කිසි දෙයක් නැතිවීමේ අවිද්‍යා සහගත දුකටමයි ඒ බැහැල තියෙන්නෙ. **අවිද්‍යා සහගත දුකක් සිහි කරන්න සිහි කරන්න ඒ පුද්ගලයා දුක්ඛ ආර්ය සත්‍යය සිහි කරනවා නෙවෙයි, ලෞකිකත්වයක්ම සිහි කර කර ඉන්නවා. එහෙම හිටියොත් කවදාවත් නිවන් දකින්න මගක් හම්බ වෙන්නෙ නෑ.**

මේ කාරණය අති සියුම් නිසා හොඳින් සිහි කරල බලන්න ඕන. අපි දුකයි කියල සිහි කරන ඒවායේ යථාර්ථය මොකක්ද? එහෙනම් ආර්යයෝ දුකයි කියල පෙන්නුවෙ මොකක්ද? මොකක්ද මේ දෙකේ වෙනස? අන්න ඒක දැකගන්න ඕන. එතකොට තමයි දුක කියන වචනයේ, නැත්නම් දුක්ඛ කියන වචනයේ ලෞකික අර්ථය මොකක්ද, ලෝකෝත්තර අර්ථය මොකක්ද කියල තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ. බොහෝ කොටම පොත්පත්වල කියවෙන්නෙ නැති කොටස් මෙතැන කියවෙන නිසා, කලබල වෙන්නෙ නැතිව අර්ථය කොච්චර වැදගත්ද කියල හිතල බලන්න ඕන. එතකොට තමයි ධර්මාවබෝධය ලබාගන්න අත්‍යවශ්‍ය කාරණයට මුල පිරෙන්නෙ. මොකද වචන පද නෙවෙයි වැදගත් වෙන්නෙ දහම් අදහස.

ඒ අනුව හොඳින් තේරුම් ගන්න ඕන, **යම් කිසි ආකාරයකින් දුක් බවට, දූෂ්‍ය භාවයට යම් කටයුත්තක් සිද්ධ වෙනවද, අන්න එබඳු වන්නා වූ කටයුත්තක් තියෙනව නම් ඒවාට මේ ආර්ය විනයේ දුක්ඛ කියල කියනවා. එහෙම නැත්නම්, බය වෙන හෙවත් පහත් බවට පත් වෙන දේවල් පස්සෙ දුවන්න යනකොට දුක / දුක්ඛ කියල කියනවා. ඒ වගේම දුක් වේදනා විඳින, අසහනකාරී තත්වයට පත් වෙලා ඉන්න, පංචකාම සම්පත්තිය නැතිකම නිසා ඇති වන්නා වූ දාහයෙන් පෙළෙන ගති ලක්ෂණයට ලෝක සත්වයෝ දුක්ඛ කියල කියනවා.**

ඒ අනුව හොඳින් තේරුම් ගන්න ඕන, **ආර්යයන් දකින දුක්ඛවලට ලෝකයේ සැප කොටසකුත් අහුවෙනවා, දුක් කොටසකුත් අහු වෙනවා. මෙන්න මේක තමයි මෙතෙක් කල් නොදැන නොදැක තිබිච්ච කොටස.** දැන් පුංචි උපමාවක් තුලින් මේ කාරණය විග්‍රහ කරගන්න ඕන. උපමා තුලින් තමයි නියම දහම් අවබෝධය ලබා ගන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා මේ දහම හොඳින් තේරුම් ගන්න, යථාවබෝධයෙන් දෙන මේ උපමාවල විශේෂත්වයක් තමන්ට දැනගන්න පුළුවන් වෙයි. පොත්පත්වල සමහරවිට මෙහෙම උපමා නැතිවෙන්න පුළුවන්. නමුත් ධර්මයට අනුකූල උපමාවලින් ඥාන ගෝචර විදිහට ඒ ආකාරයෙන් විසඳල දෙනව නම් හරියාකාරව ධර්මාවබෝධය ලබා ගන්න පුළුවන්කම ලැබෙනවා.

දැන් අපි කල්පනා කරල බලමු මෙහෙම දෙයක්. මාලු අල්ලන්න යන මනුස්සයෙක් ඉන්නවා. තැනින් තැන තියෙන වළවල්වල, ගංගාවල, ඇල දොලවල, මුහුදෙ යම් යම් මිනිස්සු ගල් උඩට වෙලා බිලී කොක්කක් කියල එකක් දික් කරගෙන ඕකෙ රැනක් කියල එකක් බැඳල දාගෙන ඉන්නවා අපි දැකල තියෙනවා. අන්න ඒ වගේ මේ බිලී බාන්න යන, මාළු අල්ලන්න

යන මනුස්සයෙක් විසින් මාලු බාන්න අරගෙන යන අංගෝපාංග ටිකක් තියෙනවා. ඒ මාලු බාගන්න ක්‍රමයක් යොදල තියෙනවා. ඒ සඳහා බිලී පිත්තක් කියල දිග කෝටුවක් ගෙනියනවා. ඒ වගේම ඒකෙ ගැට ගහන්න දිග රැනක් අරගෙන යනවා. ඊළඟට තංගුස් නූලක් වගේ එබඳු ශක්තිමත් නූලක් අරගෙන යනවා. ඒ වගේම බිලී කොක්ක කියල යකඩින් හදපු පොඩි කොකු කැල්ලකුත් ගෙනියනවා. ඊළඟට ඒකෙ අමුණන්න ඇම කියල මොනවහරි මාළුවා ප්‍රිය කරන රසවත් කෑමක් ගෙනියනවා.

දැන් අර ඇම කියන එක අමුණල බිලී කොක්ක අරගෙන නූලෙන් බැඳල ඒක අර පිත්තෙ බැඳල වතුරට දාගෙන ඉන්නකොට මුහුදෙ, ඇළේ, දොළේ, වෙළේ... ආදියේ ඉන්න මාළු ඇවිත්, රසයක් තමන් ළඟම තියෙනව කියල දැකල, අර ඇම හැටියට ගැට ගහල කොක්කෙ අමුණල සඟවල දාපු කොටස ගිලිනවා. රසය දැකල ගිලිනවා. දැන් මොකක්ද සිද්ධ වෙන්නෙ? මේක ගිල්ලොත් මම මේ කොක්කෙ ඇමිණෙනවා, එතකොට මේ රැනක් ඇදිල තියෙන පිත්තකට අහුවෙලා ඒක අල්ල ගන්න මනුස්සයෙක් ඉන්නවා, ඒ මනුස්සයට වාසියක් අහුවුනා කියල හිතාගෙන මගේ ජීවිතය මේකෙන් නැතිවෙලා යනවා, නැත්නම් මට මරණය හා සමාන දුකකට පත්වෙන්න සිද්ධ වෙනවා, ඔවුන්ට රැවටිලා මේ ඇම ගිල්ලොත් මට මැරෙන්න සිද්ධ වෙනවා, එහෙම නැත්නම් කට කඩාගෙන ගිහින් හරි මරණය හා සමාන දුකක් විඳින්න සිද්ධ වෙනවා... කියන මේ කාරණා එකක්වත් මාළුවා දන්නෙ නෑ, මාළුවාට වැටහෙන්නෙ නෑ. ඒ කාරණය දන්නව නම් එහෙම, අර ඇම කොච්චර රස වුනත් කවදාවත් ගිලින්න යන්නෙ නෑ. දැන් ඇම හොඳයි කියල නිගමනයක් කරල ඒ ඇමට කට ගහන්න ගිය මාළුවාට සිද්ධ වෙන්නෙ මොකක්ද, අර කොක්කට පැටලිලා මරණය හෝ මරණය හා සමාන දුකකට පත් වෙන්න.

එහෙනම් මෙන්න මේ වගේ, කෙලෙස් නමැති පවිටු මාරයා විසින් ලෝක සත්වයාට ඇමක් දාල තියෙනවා. මේ කියන්නෙ මාර දිව්‍ය පුත්‍රයා ගැන නෙවෙයි. මේ පවිටු මාරයා නමැති කෙලෙස්, පුද්ගලත්වයට අරගෙන මේ උපමාව සංසන්දනය කරල බලන්න. දාල තියෙන රැන අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් බැඳල අවිද්‍යාවෙන් වට කරල රසවත් ඇමක් විදිහට හදල තියෙනවා. ඒකෙ අමුණල තියෙන බිලී කොක්ක තමයි විඳින්න සිද්ධ වෙන අසහනකාරී දුක්ඛ තත්වය, නොයෙක් ආකාර වන්නා වූ එකොළොස් මහා දුක් ගිනි... ආදී වශයෙන් පෙන්වා තියෙන දුක. අන්න ඒ දුක යට කරල රසාස්වාදයෙන් යුක්ත පංච කාමය නමැති මන වඩන රූප, මන වඩන ශබ්ද, මන වඩන ගන්ධ, මන වඩන රස, මන වඩන පොට්ඨබ්බ කියන මෙන්න මේ පංච කාම වස්තු නමැති ඇම ගහල ඒවා මේ සංසාරය නමැති සාගරයට දාල තියෙනවා. දැන් මේකෙ පිහිනන මාළුවො වගේ සසර සැරිසරන ලෝක සත්වයා මොකද කරන්නෙ, මාළුවා ඇම ගිලිනව වගේ පංච කාම සම්පත්තිය ගිලගන්න ගිහින් අර පවිටු මාරයා කියන කෙළෙස්වල වසඟයට අහුවෙලා මරණය හෝ මරණය හා සමාන දුකකට වැටෙන්න හේතු වෙනවා. අසහනකාරී තත්වයෙන් පෙළි පෙළී අනාථ බවකට වැටෙන්න හේතු වෙනවා.

මෙන්න මේ කියන කාරණය හරියාකාරව විග්‍රහ කරල තේරුම් ගන්න බැරි නිසා, පංච කාම සම්පත්තිය ප්‍රියයි මනාපයි යහපතයි හොඳයි සාරයි කියල හිතට ගත්ත ලෝක සත්වයෝ, මේ ආර්ය ධර්මය පිළිබඳව අදක්ෂ නිසා ලෝක ධර්මය තුල රැවටිලා අවිද්‍යාවෙන් වැහිල තෘෂ්ණාවෙන් වෙළිල ඒ පංච කාම සම්පත්තිය සඳහාම දඟලමින් ඒ ඇම ගිලිනවා. ඇම ගිලින තාක් කල් මරණය හෝ ඒ හා සමාන දුකෙන් මිදෙන්න බෑ වගේ, ඒ පංච කාම සම්පත්තියට ගිජු වෙලා ඒවා ගිලගන්න යන තාක් කල් සසර අනාථ තත්වයෙන් මිදෙන්න පුළුවන්කමක් නෑ. අනන්ත අප්‍රමාණ දුක් වෙහෙස විඳගෙන දාහයකට පත්වෙලා අසහනකාරී පැවැත්මකට හිමිකාරයො වෙනවා.

එහෙනම් මෙතැනදි අපි තේරුම් ගන්න ඕන දෙයක් තියෙනවා. **අර මාළු අල්ලන්න ගිය මනුස්සයා ළඟ තිබුනෙ මොනවද? බිලී පිත්තක් තිබුන නම්, ඒ වගේම ඒකෙ බැඳුන රැහැනක් තිබුන නම්, කොක්කක් තිබුන නම්, ඒකෙ මාළුවා ප්‍රිය කරන රසවත් ඇමක් ගැට ගහල අමුණල තිබුන නම්, ඒ සියල්ලම මාළුන්ට මරණය හෝ මරණය හා සමාන දුකකට පත් කරන වස්තු මිසක් උන්ට යහපතක් කරන වස්තුවක් ඔය අතර තිබුනෙ නෑ. එහෙනම් අර අමුණල තිබුන ඇම රසයි කියල ගත්ත නම් මොකද වෙන්නෙ? මරණය හෝ මරණය හා සමාන දුකකට පමුණුවන ක්‍රියා කලාපයට අයිති දෙයක් නිසා, අන්න ඒකත් දුකට පමුණුවන**



**කටයුතුවලට සම්බන්ධ නිසා, කොච්චර රස වුනත් ඒ ඇම දුක්ඛ කියන්නා වූ තැනට අහුවෙන, දුක් කටයුතු ගොඩට වැටෙනවා. ආර්ය විනයේ සැපත් දුකක් විදිහට දකින්නෙ ඔන්න ඔය විදිහටයි.**

ඒ නිසා මේ ලෝකෙ පංච කාම සම්පත්තිය කොච්චර ප්‍රියයි මනාපයි යහපතයි සාරයි කියල කිව්වත්, ඒ තුල සසර අනාථ කරන, අසරණ කරන යම් දුක්ඛයක් තියෙන නිසා අන්න ඒක දුක්ඛ කියන කොටසට වැටෙනවා. එහෙනම් ආර්ය විනයේ දුක්ඛ කියන්නෙ අපි අසහනයට පත්වෙන, විඳින දුකට විතරක් නෙවෙයි. යම් කිසි ආකාරයකින් ප්‍රිය මධුර ආස්වාද ස්වභාවයක් පෙන්වල අසහනයට පත් කරමින්, අනාථ බවට පත් කරමින්, සසර මුලාවට පත් කරමින්, අනන්ත දුක් ගොඩකට ගෝචර කරවන්න යම් ධර්මයක් ආධාර වෙනවද, හේතු වෙනවද, ඒ අනන්ත දුක් කටයුතුවලට හේතු වන්නා වූ සියල්ලම තමන්ව අනාථ බවට පත් කරන නිසා ඒවා දුකටම අයත් වෙනව කියල ආර්ය ධර්මය තුලින් දැනගන්න ඕන. එහෙනම් **ආර්ය විනයේ දුක කිව්වම, ලෝක සත්වයා සැප කියන ඒවත් ඒ දුක ඇතුලෙ තියෙනවා, ලෝක සත්වයා දුකයි කියන ඒවත් ඒක ඇතුලෙ තියෙනවා.** එතකොට ආර්යයෝ යථාර්ථය දැකීමෙන් ප්‍රඥා චෛතසිකයෙන් ඒවා දුකයි කියල දකිනවා. වේදනා චෛතසිකයෙන් ඒක දැකගන්න බෑ.

දැන් බලන්න ඕන, ඉස්සර වෙලා දැකපු දුක වෙනස් වෙලා ආර්යයෝ කෙබඳු දුකක්ද දකින්නෙ කියල. ජාතිය කියන එක විග්‍රහ කරගෙන යනකොට අපිට නානා ප්‍රකාර ජාති දකින්න ලැබෙනවා. දැන් මේ නානා ප්‍රකාර ජාතිවලින් අපි අද වෙනකොට

ජාති කියන්නෙ මිනිස් උපතකට, සත්ව උපතකට විතරයි. නමුත් ඒක එහෙම නෙවෙයි. ආර්ය විනය තුල ජාති විග්‍රහ කරනකොට ඉතාම සියුම් තැනට පවා විග්‍රහ වෙනවා. මීට පෙර ලිපියකින් විග්‍රහ කළා, අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ කියන්නෙ ඒ සංඛාරයන්ගේ ජාතියයි, සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වේ යන යමක් ඇත්ද ඒ විඤ්ඤාණවල ජාතියයි... ආදී වශයෙන්. ඒ වගේම කෙස් ජාති, ලොම් ජාති, නියපොතු ජාති, දත් ජාති, හම් ජාති... ආදී වශයෙනුත් ජාති කොටස් තියෙන බව පෙන්නුවා. එහෙනම් යම් කිසි ආකාරයකින් මේ මේ ජාති ප්‍රියයි මනාපයි යහපතයි කියල ලෝක සත්වයා ගන්නව නම්, අන්න ඒ ජාති ඡන්ද රාගයෙන් අල්ලන්න ගියාම ඒ පුද්ගලයට දුකට වැටෙන්න සිද්ධ වෙනවා.

දැන් අපි මුලින්ම එක පාරටම කිව්ව නම් මේ ප්‍රිය ජාතියි, අප්‍රිය ජාතියි කියල 2 ක් තියෙනවා, මේවායින් අප්‍රිය ජාතිවලට වඩා, ප්‍රිය ජාති තමයි දුක් දෙන්නෙ කියල, ඒ කතාව ලෝකයා පිළිගන්න සූදානම් නෑ. ඒ වගේම, මේ අප්‍රිය ජාති තමයි දුකයි කියන්නෙ, ප්‍රිය ජාති දුක් දෙන්න විදිහක් නෑ කියල කිව්ව නම් ඒ කතාවත් ගැලපෙන්නෙ නැති බව දැන් වැටහෙනවා. නමුත් දැන් මේ විදිහට විග්‍රහ කරගෙන ගැඹුරෙන් ගැඹුරට බහිනකොට තමයි සැඟවිලා තියෙන දුක, දුක්ඛ ආර්ය සත්‍යය හොඳින් වැටහෙන්න පටන් ගන්නෙ, පෙර නොඇසූ විරූ දහම් වැටහෙන්න පටන් ගන්නෙ. එහෙනම් පෙර ඇහුවෙ නැති දේ මොකක්ද කියල හොඳින් තේරුම් ගන්න ඕන.

බුදු පියාණන් වහන්සේම දේශනා කොට වදාළ ධර්මයක් තියෙනවා. "ඉදං දුක්ඛං අරිය සච්චන්ති මේ භික්ඛවේ පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු චක්ඛුං උදපාදි ඤාණං උදපාදි පඤ්ඤා උදපාදි විජ්ජා උදපාදි ආලෝකෝ උදපාදි" මේ දුක පිළිබඳව බුදු පියාණන් වහන්සේ දුටු දහමක් දේශනා කරනවා. පෙර අහපු නැති, පෙර දැනගත්තෙ නැති ධර්මයක් කෙරෙහි මෙසේ දකින ඇස පහළ වුනා, ඤාණය පහළ වුනා, ප්‍රඥාව පහළ වුනා, විද්‍යාව පහළ වුනා, සියලු ආකාරයෙන් දකින දහම් ආලෝකය පහළ වුනා.

එහෙනම් මෙතැනදි මෙතෙක් කල් නොදැකපු දහමක් දුක පිළිබඳව පෙන්වනවා. පෙර නොඇසූ විරූ දහමක් හැටියට දුක්ඛ ආර්ය සත්‍යය දැක්ක නම්, අන්න ඒ වෙලාවෙදි පුළුවන්කම ලැබෙනවා දුක්ඛ ආර්ය සත්‍යය වටහා ගන්න. එහෙනම් පෙර නොඇසූ විරූ දුක හොයා ගන්න නම් කොහොමද දකින්න ඕන? සැපයි සැපයි කියල හිතාගෙන හිටියෙ මායාවක් බව තේරුම් ගන්න පුළුවන් වුනා නම්, අවසානයේ දුකක් දෙන දෙයක්ම බව තේරුම් ගන්න පුළුවන් නම්, මේ ලෝකෙ ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය අපිව රවට්ටපු මායාවක් විතරක් කියල වටහා ගන්න පුළුවන් වෙනවා.

අපි යම් කිසි රූපයක් දිහා බලල ලස්සනයි කිව්වම, ද්‍රව්‍යයක්ද ඒ විදිහට ලස්සනයි කිව්වෙ, නැත්නම් ද්‍රව්‍යයක ඔප මට්ටමක්ද කියල දකින්න පුරුදු වෙන්න ඕන. එහෙනම් කෙස්, ලොම්, නිය, දත්, සම්... ආදී වූ කොටස් 5 ක් විද්‍යමාන වෙලා දෙතිස් අසුභ කොට්ඨාසයන්ගෙන් යුක්ත වෙලා, හරිම ලස්සනයි හරිම හැඩයි කියල වෙන් කළේ මොනව දැකලද? ඒ කොටස් පහේ විද්‍යමාන වෙච්ච පිට ඔප මට්ටම දැකල තමයි ලස්සන රූපයක් කියන නිගමනයට බැස්සෙ. එහෙනම් ඒ ලස්සන රූපය කියන එකේ ලස්සන කියල වෙනම කොටසක් නෑ. අර කියන්නා වූ කොටස් 5 තමයි පිටට පේන්න ඔප් නැංවිලා තිබුනෙ. එහෙනම් මෙතැනදි ඔප මට්ටම නිසා ප්‍රියයි මනාපයි යහපතයි හොඳයි කියල බාරගත්ත බව දකිනවා. එහෙනම් ඒ ජාති ටික අසුභමයි. එතකොට සුභ ජාති හැටියට ගත්තෙ මොකක්ද? ඒකෙ තිබ්බ්ච ඔප මට්ටමට. එහෙනම් සුභ හැටියට දෙයක් නෙවෙයි ගත්තෙ. ඒ ඔප මට්ටමට රැවටිච්ච මානසිකත්වය.

යම් දවසක මෙන්න මේ ආකාරයෙන් රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ... ආදී වශයෙන් කියන පංච කාම වස්තුවල, යම් තරමක් ඒ පංච කාම ආස්වාද ලබාදෙන සත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු වශයෙන් ලෝකෙ විද්‍යමාන වෙනවද, "මම" කියල "මගේ" කියල ලෝකෙ විද්‍යමාන කර ගත්ත යමක් තියෙනවද, මේවායේ තියෙන මේ ඔප මට්ටම නේද මේ දුක් ගොඩක් අල්ල ගන්න රවට්ට ගන්නෙ කියල දහම් දකින නුවණින් නිතර විමර්ශනය කළා නම්, අන්න ඒකට කියනවා විදර්ශනා නුවණ වඩනවා, විදර්ශනාවෙන් දකින්න පටන් ගන්නවා කියල.

මේ මහා රැවටිල්ලක්, මායාවක් තමයි මේ ලස්සන කියන්නෙ, මේ මිහිරි හඬ කියන්නෙ, මේ සුවඳ කියන්නෙ, මේ රසය කියන්නෙ, මේ පහස කියන්නෙ, මේ වස්තුවලම ඔප මට්ටම් ඇසුරු කරල මුලාවට පත් කරන දහමක් නේද කියල විදර්ශනාත්මකව දකින්න පටන් ගත්ත නම්, පංච කාමයන්ගේ අසාරත්වය දකින්න පටන් ගන්නවා. යම් දවසක ඒ ආකාරයෙන් දහම් මෙනෙහි කළොත්, පිරි සිඳ දැනගත්තා කියන්නා වූ දහම් අවබෝධයක් ලැබෙනවා. "තං ඛෝ පනිදං දුක්ඛං අරිය සච්චං පරිඤ්ඤෙය්‍යන්ති මේ භික්ඛවේ පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු චක්ඛුං උදපාදි..." කියල දේශනා කරනවා. මේ දුක පිරිසිඳ දැනගත යුතුයි කියල, දහම් ඇස පහළ වුනා, ඥානය පහළ වුනා, ප්‍රඥාව පහළ වුනා, විද්‍යාව පහළ වුනා, ආලෝකය පහළ වුනා. එහෙනම් මොකක්ද පිරිසිඳ දැනගන්නවයි කියන්නෙ, කොහොමද දැනගන්නෙ?

මේ වචනයේ පද නිරුක්තිය දන්නෙ නැත්නම් යථාර්ථය වටහා ගන්න බෑ. පිරි සිඳල දැනගන්නව නම් පිරිසිඳ දැනගන්නවා. මොකක්ද පිරි කිව්වෙ? ප්‍රිය භාවය. මොනවටද ප්‍රිය කළේ? පංච කාම සම්පත්තිය ප්‍රිය මධුර වශයෙන් අරගෙන ඉන්න තාක් කල් ඇත්ත බලාගන්න බැරිව යනවා. ඒ ප්‍රිය, මධුර ස්වභාවය, දෘෂ්ටිගත වෙච්ච මානසිකත්වය තුළින් අර ආදීනව වශයෙන් තිබුන දුක්ඛ ස්වභාවය සම්පූර්ණයෙන්ම වහල දාල, ඒවා සුඛ ස්වභාවය තියෙන වස්තු හැටියට රවට්ටල මතු කරල පෙන්වනවා. මේ නිසා ඇත්ත දැනගන්න බෑ, දුක දැනගන්න බෑ. එහෙනම් මේ කියන ප්‍රිය භාවය සිඳින්න නම් මොකද කරන්න ඕන? ඒ ප්‍රියයි මනාපයි යහපතයි කියන පංච කාමයන්ගේ ආදීනව බලන්න පුරුදු වෙන්න ඕන. එතැනදි දුකේ ආදීනව හැටියට දුක සිහි කරන එක නෙවෙයි කරන්නෙ. මෙච්චර කාලයක් සැපයි සැපයි කිව්ව පංච කාමයන්ගේ ආදීනව දකින්න පුළුවන් වුනා නම් අන්න එදාට තේරෙන්න පටන් ගන්නවා, මේ පංච කාම සම්පත්තිය කියන්නෙ අසාර දේවල්, ප්‍රිය වශයෙන් ගන්න හොඳ දේවල් නෙවෙයි අවසානයේ දුක් දෙන දේවල් කියල. අන්න ප්‍රිය භාවය සිඳ දමනවා.

පිරිසිඳ ගියාට පස්සෙ මොකද වෙන්නෙ? දැන් අමුතුවෙන් දුක ගැන කියල දෙන්න දෙයක් නෑ. මෙච්චර කල් වැහිල තිබුනෙ. මෙච්චර කලක් සැපයි කියල අර ගත්තෙ වැඩකට ඇති දෙයක් නෙවෙයි. එහෙනම් වැඩකට නැති දෙයක් අල්ල ගන්න එක නේද දුකට හේතුව වෙන්නෙ? ඒ නිසා මේ ආකාරයෙන් කෙළවරක්

# නිවන් ලැබ දෙන කමටහන්...

**11 කොටස**



දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මෙවරත් සටහන් කරන්නෙ. උන්වහන්සේ විසින් එක එල්ලේම සමාධියෙන් මතු නොකළත්, ත්‍රිපිටක පෙළ දහමේ එන සමහර වටිනා ගාථා කොටස් සුදුසු විදිහට ගලපල කර්මස්ථාන විදිහට සඳහන් කරල තියෙන්නෙ, උන්වහන්සේගේ අවබෝධය සහ අත්දැකීම අනුව ඒවා කර්මස්ථාන වශයෙන් භාවිතා කිරීම තුලින් ඉතා යහපත් ප්‍රතිඵල ලබාගෙන ඒ බව දේශනා කරල තියෙන නිසා.

සමහර කර්මස්ථාන බැලූ බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනසක්ම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පින්වතුන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ වගේම මේ කර්මස්ථානවල සඳහන් සමහර කර්මස්ථාන වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කර්මස්ථාන වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කර්මස්ථාන වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

විශේෂයෙන් මෙවර සටහන් කරන කර්මස්ථාන අතර බොහොමයක් තියෙන්නෙ පටිච්ච සමුප්පාදය මුල් කරගෙන නැගුන කර්මස්ථාන. පටිච්ච සමුප්පාදය කියන්නෙ ඉතා ගැඹුරු ධර්මස්කන්ධයක්. බහින්න බහින්න මහා සාගරය වගේ ගැඹුරුයි කියල පෙන්වනවා. නමුත් නිවන් දකින්න ඒ තරම් එහාට යන්න ඕන නෑ. මූලික දහම දැනගත්තට පස්සෙ පටිච්ච සමුප්පාද චක්‍රයේ එන ඕනෑම කොටසක් කර්මස්ථානයක් විදිහට අරගෙන වඩල සසර ගමන කෙළවර කරගන්න පුළුවන්.

මේ කාරණය උදාහරණයකින් මේ විදිහට පහදන්න පුළුවන්. දෙන්නෙක් එකතු වෙලා මුළු දවසක් තිස්සේ කඹයක් දෙපැත්තට ඇද ඇද හිටියත් කඹය කැඩෙන්නෙ නෑ. හැබැයි ඒ කඹයේ එක එක පොල් කෙන්ද ගානෙ පතුරු ගහල ගලවන්න පටන් ගත්තොත්, පැයක් නැතිව වැහිල තිබුන මෙබඳු දුක් ගොඩ දැකල, මෙච්චර කාලයක් වැහිල තිබිච්ච වැහුම් ඇරුනට පස්සෙ ඇස් පේන්න පටන් ගන්නවා. යථාර්ථයෙන්ම ඒකෙ සැඟවිලා තිබිච්ච දුක් ගොඩ පෙර දැක්කෙ නැති නිසා තමයි කියන්නෙ, පෙර නොඇසූ විරූ දුක මේ ආකාරයෙන් දැක්කයි කියල.

මෙන්න මේ ආකාරයෙන් දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරගන්න ඕනකමක් තියෙනව නම්, දුකයි දුකයි කිය කිය ඉන්න එක නෙවෙයි කරන්න ඕන. මේ විදිහට විග්‍රහ කරල තේරුම් අරගෙන, යම් සේ ප්‍රියයි, මනාපයි, යහපතයි, හොඳයි කියන මේ පංචකාම සම්පත් තියෙනව නම්, ඒවා හරයක් ඇති දේවල්ද, සාර දේවල්ද, අසාර දේවල්ද කියල ධර්මානුකූලව විමර්ශනය කරන්න ඕන. එතකොට පේන්න පටන් ගන්නවා, අසාරත්වයට නේද මේ සාරයි කියල හිතාගෙන හිටියෙ කියල. “අසාරකට්ඨේන අනත්තා” කියන දහම් පදය වැටහෙන්න පටන් ගන්නවා. අසාරත්වයෙන් යුක්ත වූ අනර්ථකාරී දේවල් යහපතයි කියල අල්ල ගත්තා. ඒවා අල්ලන්න ගිහින් ඇම කනව වගේ, ඒවා පස්සෙ ගිහින් නේද මේ කෙළවරක් නැති දුකට පාත්‍ර වෙන්නෙ, මේ අනාථ බවට පාත්‍ර වෙන්න හේතු වුනේ. එහෙනම් මින් එහාට එබඳු වන්නා වූ වැඩකට නැති වැඩ කරන්නෙ නෑ. දැන් එහෙනම් එබඳු අනාථ තත්වයෙන් මිදෙන්න අමුතුවෙන් යමක් කරන්න දෙයක් නෑ. ඇත්ත ඇති ආකාරයෙන්ම දැනගත්තම, ආස්වාදය මර උගුලක්, මායාවක් හැටියට දැන ගත්තම, අසාර දෙයක් බව දැනගත්තම, අමුතුවෙන් කරන්න දෙයක් නෑ. දුක වටහා ගැනීමේ ඥානය පහල වෙලා චතුරාර්ය සත්‍යය දකිනවා, දුක්ඛ ආර්ය සත්‍යය වැටහීම සිද්ධ වෙනවා.

මෙන්න මේ ආකාරයෙන් තේරුම් අරගෙන ඒ දුක්ඛ ආර්ය සත්‍යය අවබෝධ කරගත්ත නම්, දුකට හේතුවත්, දුක්ඛ නිරෝධයත්, දුක්ඛ නිරෝධ මාර්ගයත් කියන මේ හතරම වැටහෙනවා. හැමදෙනාටම යහපතක් වේවා! නිවන් සාක්ෂාත් කර ගන්න හේතු වාසනා වේවා!

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

දෙකක් යනකොට මුළු කඹයම කඩල අවසන් කරන්න පුළුවන්. අන්න ඒ වගේ මේ සංසාර චක්‍රය කඩාගන්න, පටිච්ච සමුප්පාදය කර්මස්ථානයක් වශයෙන් වඩනකොට එකින් එක වෙන වෙනම විග්‍රහ කරල ගත්තොත් පහසුවෙන් වඩාගන්න පුළුවන්. උදාහරණ විදිහට අවිද්‍යා සංඛාර අනාථයි, අවිද්‍යා විඤ්ඤාණ අනාථයි... ආදී වශයෙන් එකින් එක අරගෙන කර්මස්ථාන වැඩීමත් හරියට මහ කඹයක කෙන්ද කෙන්ද එකින් එක කඩනව වගේ වැඩක්.

245.සම්මා සම්බුදු සරණයි
අවිද්‍යා සංඛාර අනාථයි
අවිද්‍යා විඤ්ඤාණ අනාථයි
අවිද්‍යා නාමරූප අනාථයි
අවිද්‍යා සළායතන අනාථයි
අවිද්‍යා ස්පර්ශ අනාථයි
අවිද්‍යා වේදනා අනාථයි
අවිද්‍යා තණ්හා අනාථයි
අවිද්‍යා උපාදාන අනාථයි
අවිද්‍යා භව අනාථයි
අවිද්‍යා ජාති අනාථයි
සියල්ල අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි ///

246. සම්මා සම්බුදු සරණයි
අවිද්‍යා සංඛාර නිරෝධ වෙත්වා
අවිද්‍යා විඤ්ඤාණ නිරෝධ වෙත්වා
අවිද්‍යා නාම රූප නිරෝධ වෙත්වා
අවිද්‍යා සළායතන නිරෝධ වෙත්වා
අවිද්‍යා ස්පර්ශ නිරෝධ වෙත්වා
අවිද්‍යා වේදනා නිරෝධ වෙත්වා
අවිද්‍යා තණ්හා නිරෝධ වෙත්වා
අවිද්‍යා උපාදාන නිරෝධ වෙත්වා
අවිද්‍යා භව නිරෝධ වෙත්වා
අවිද්‍යා ජාති නිරෝධ වෙත්වා
අවිද්‍යා ජරා මරණ සෝක පරිදේව
දුක්ඛ දෝමනස්ස උපායාස
නිරෝධ වෙත්වා
නිවන් සුවයෙන්
සුවපත් වෙත්වා ///

247.සම්මා තිසරණ සරණයි
මමද සියලු ලෝක
සියලු සත්වයෝ කෙරෙහි
අවිජ්ජා සංඛාර නිරෝධ වෙත්වා
විඤ්ඤාණ, නාම රූප, සළායතන,
ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන,
භව, ජාති, ජරා මරණ
සෝක පරිදේව
දුක්ඛ දෝමනස්ස උපායාස
නිරෝධ වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා///

මේ කර්මස්ථානය අගට පහත
කොටසත් එකතු කරල තවත්
කර්මස්ථානයක් විදිහට භාවිතා
කරන්න පුළුවන්.

නිදුක් වෙත්වා
නිරෝගී වෙත්වා
සුවපත් වෙත්වා
දුකෙන් මිදෙත්වා ///

248.අවිද්‍යා රූප අනාථයි
අවිද්‍යා රූප
නිරෝධ වෙත්වා///
අවිද්‍යා වේදනා අනාථයි
අවිද්‍යා වේදනා
නිරෝධ වෙත්වා///
අවිද්‍යා සංඥා අනාථයි
අවිද්‍යා සංඥා
නිරෝධ වෙත්වා///
අවිද්‍යා සංඛාර අනාථයි
අවිද්‍යා සංඛාර
නිරෝධ වෙත්වා///
අවිද්‍යා විඤ්ඤාණ අනාථයි
අවිද්‍යා විඤ්ඤාණ
නිරෝධ වෙත්වා///

249.අවිජ්ජා යත්වේව
අසේස විරාග නිරෝධා
සංඛාර නිරෝධෝ
සංඛාර නිරෝධා
විඤ්ඤාණ නිරෝධෝ
විඤ්ඤාණ නිරෝධා
නාම රූප නිරෝධෝ
නාම රූප නිරෝධා
සළායතන... ඵස්ස.. වේදනා...
තණ්හා... උපාදාන... භව.. ජාති...
(පෙර සේ විස්තර කරගන්න.)
ජරා මරණ සෝක පරිදේව දුක්ඛ
දෝමනස්සුපායාසා නිරුජ්ඣන්ති

ඒතං සන්තං ඒතං පණීතං යදිදං
සබ්බ සංඛාර සමථෝ
සබ්බූපදි පටි නිස්සග්ගෝ
තණ්හක්ඛයෝ විරාගෝ නිරෝධෝ
නිබ්බානන්ති

මමද සියලු ලෝක සියලු සත්වයෝ
නිදුක් වෙත්වා - නිරෝගී වෙත්වා
සුවපත් වෙත්වා - දුකින් මිදෙත්වා

250.අවිජ්ජා යත්වේව අසේස විරාග
නිරෝධා
සංඛාර නිරෝධෝ
සංඛාර නිරෝධා
විඤ්ඤාණ - නාම රූප - සළායතන
- ඵස්ස - වේදනා - තණ්හා -
උපාදාන - භව - ජාති (පෙර සේ
විස්තර කරගන්න.)
ජරා මරණ සෝක පරිදේව දුක්ඛ
දෝමනස්සුපායාසා නිරුජ්ඣන්ති

ඒව මේතස්ස කේවලස්ස
දුක්ඛක්ඛන්ධස්ස නිරෝධෝ හෝති
ඒතං සන්තං ඒතං පණීතං...
මමද සියලු ලෝක
සියලු සත්වයෝ...
(පෙර සේ විස්තර කරගන්න.)

251.චක්ඛු ධාතු
රූප ධාතු
චක්ඛු විඤ්ඤාණ ධාතු
සංඛතයි - පටිච්ච සමුප්පන්නයි
ක්‍ෂය ධර්මයි - වැය ධර්මයි
සෝත ධාතු - ශබ්ද ධාතු - සෝත
විඤ්ඤාණ ධාතු
ඝාන ධාතු - ගන්ධ ධාතු - ඝාන
විඤ්ඤාණ ධාතු
ජිව්හා ධාතු - රස ධාතු - ජිව්හා
විඤ්ඤාණ ධාතු
කාය ධාතු - පොට්ඨබ්බ ධාතු - කාය
විඤ්ඤාණ ධාතු
මනෝ ධාතු - ධර්ම ධාතු - මනෝ
විඤ්ඤාණ ධාතු
(පෙර සේ විස්තර කරගන්න.)
අටලොස් ධාතු ලෝක අනාථයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි///

(මෙය ධාතු කර්මස්ථානයකි. ඝණ සංඥාව බිඳ ගැනීම සඳහා ඇතැම් පින්වතුන්ට ධාතු වශයෙන් වෙන් කර බලන විට වඩාත් හොඳින් ගෝචර වේ.)

252. අටලොස් ධාතු ලෝක අනාථයි
නිරෝධ නාථයි

253.මමද සියලු සත්වයෝ
සියලු අවිද්‍යා පොදියෙන් මිදෙත්වා
සියලු තණ්හා පොදියෙන් මිදෙත්වා

ඒ වගේම ධර්ම ශ්‍රවණයෙන් මූලික දහම් අවබෝධය ලබාගෙන මාර්ගය ඉදිරියටත් වඩාගෙන යනකොට කාම ලෝකයේ ඉන්න නීච කාම අමනුස්සයන්ගෙන් විවිධ කරදර බාධා එන්න පුළුවන්. ඒ අය විසින් විවිධ කාම දර්ශන පෙනෙන්න සලස්වන්න පුළුවන්, විවිධ කාම ශබ්ද ඇහෙන්න සලස්වන්න පුළුවන්. මේ සම්බන්ධයෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ සැහෙන අත්දැකීම් ලබල තිබුනා. ඒවා වරින්වර උන්වහන්සේ විසින් හෙළි කරල තිබුනා. ඒ වගේ අවස්ථා අපි හිතනවට වඩා හුගක්

සංකීර්ණයි. සාමාන්‍ය කෙනෙකුට හිතාගන්නත් බැරි කරදර බාධක එන්නෙ. කාම රාග ප්‍රහීණ නොකරපු, ඊට මෙහා ඉන්න කෙනෙක් නම් ඒ වගේ කාමුක දර්ශනවලින්, කාමුක ශබ්දවලින් වික්ෂිප්ත වෙන්න පුළුවන්. එතකොට ඉදිරියට යන්න බාධා වෙනවා.

ඒ නිසා මේ මාර්ගය ඉදිරියට වඩාගෙන යනකොට කාම ලෝකයේ නොයෙක් නීච අමනුස්සයන්ගෙන් එන බලපෑම් මැඩ පවත්වාගෙන තවදුරටත් ඉදිරියට යන්න නම් ඒ සඳහා පසුතලය හැදෙන්න ඕන. ඉතින් ඒ වගේ අවස්ථාවක ඒ මාර පාක්ෂික අමනුස්ස බලවේග මැඩ පවත්වන්න උන්වහන්සේගේ සමාධියට නැගිල ආ තවත් ප්‍රබල කෙටි කර්මස්ථානයක් ලෝකයාගේ යහපත පිණිස අත්දැකීම් සහිතව හෙළිදරව් කරල තියෙනවා. මේ තියෙන්නෙ ඒ කර්මස්ථානය.

## 254. සප්ත සූරියාලෝක සිද්ධි බල ඒස්වඃ

මේක සිද්ධි නැගෙනකල්ම වඩන්න ඕන. කර්මස්ථානයක් වශයෙන් දවසට කිහිප වතාවක් වඩල පුරුදු කරගන්න ඕන. එතකොට ශරීරයේ බැඳිල හිර වෙලා තියෙන සියලු අපද්‍රව්‍ය පිච්චෙනවා. එතකොට වෙනත් යන්ත්‍ර මන්ත්‍ර අවශ්‍ය වෙන්නෙත් නෑ. කර්මස්ථානයක් වශයෙන් වඩල අවසානයේ සත්‍යයි /// ස්ථිරයි /// අධිෂ්ඨානයි /// කියල තුන් වතාව බැගින් කියන්න ඕන. සත්‍ය වශයෙන්ම, ස්ථිර වශයෙන්ම අධිෂ්ඨානයේ පිහිටනවා කියන එක තමයි ඒකෙන් කියන්නෙ.

මේක කර්මස්ථානයක් වශයෙන් වඩන්න පුරුදු වුනාම විසාල ආලෝකයක් නැගෙනවා. ඒ නැගෙන ආලෝකයට ඕම් කියන මන්තරයත් පරාදයි. මොකද ඕම් කියන්නෙ මහා බ්‍රහ්මයා ඉන්න බ්‍රහ්ම ලෝකයෙන් නැගෙන එකක්. නමුත් මේ කියන්නෙ ඊටත් එහා ආභස්සර බ්‍රහ්ම ලෝකයට සම්බන්ධ එකක්. එතකොට මේක කර්මස්ථානයක් වශයෙන් භාවිතා කිරීමෙන් ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් මෙහා තියෙන කාම රාග දොස් කැපිල යනවා. රූපාවචර මට්ටමට එනවා. තමන්ගෙ ඒ ගති නැති වෙලා ක්‍රමයෙන් සිද්ධි වැඩෙනකොට කාම අමනුස්සයන්ට ඇඟිලි ගහන්න බැරිව යනවා. ඒ අය ඇසුරු කරන්න ආවොත් ඒ බලපෑම අඩුවෙන්න පටන් ගන්නවා.

දැන් මේකෙන් පෙන්වන්නෙ ඉරවල් 7 ක් පායල විනාස වීමක්. එතකොට කාම ලෝකයේ සියල්ල දැවිල අළු වෙලා යනවා. ආභස්සර බඹ ලොවට යනකල්ම සුද්ධ වෙලා යනවා. එතැනට යනකල්ම ඒ සෘද්ධි බල නැගෙනවා. මේ කියන්නෙ උපමාවක්. ඒ හා සමානව තමන් ළඟ තියෙන කාම කෙළෙස් පිච්චිලා දැවිල යනකොට ඒ නීච කාම අමනුස්සයන්ට තවදුරටත් කරදර කරන්න බැරිව යනවා. මේක හුරු කරගෙන පසුතලය හැදුනට පස්සෙ ධ්‍යාන වඩන්න හරි පහසුයි.

මෙතැනදි ඒස්වඃ කියන එක විශේෂයි. තමන්ට විශ්ව බලයක් ඇදිල එන එකක් තමයි එතැනදි පෙන්වන්නෙ. ඒස්වා හඬ කිව්වොත් අනුන්ට පිහිටනවා. ඒස්වඃ කිව්වොත් තමන්ට පිහිටනවා. යේස්වඃ කිව්වොත් යනවා. ඒ නිසා ඒස්වඃ යේස්වඃ කියන්නෙ 2 ක්. හෝස්වා හඬ කිව්වොත් ඇතටම තල්ලු කරල දානවා. පලයන් තෝස්වා... ආදී වශයෙන් මන්තරවල තියෙන්නෙ ඒ කාරණය. නමුත් මේවා අද ඉන්න හුඟක් අය දන්නෙ නෑ. නිකං කියන්නත් වාලෙ කියනවා.

ඉතින් මේක මෑතකදිත් කර්මස්ථානයක් වශයෙන් වඩල කයේ පහසුවත්, සැහැල්ලුවත්, මනසේ නිදහස් භාවයත් ඇති කරගෙන කය ආලෝක වෙලා ඒ ආදී වශයෙන් අත්දැකීම් ලබාගත්ත පින්වතුන් ඉන්නවා.

**(පසුගිය කලාපයේ 244 කර්මස්ථානයේ පළ වූ "ඡේදන ඡේදන ඡේදන ඡේදනෙ ඡේදන ඡේදන ඡේදනා" යන්නෙහි 4 වෙනි පදය වන "ඡේදනෙ" කොටසද "ඡේදන" වශයෙන් නිවැරදි විය යුතු බව කාරුණිකව සළකන්න.)**

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 91 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

ශ්‍රම දයකත්වය

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ සාලින්ද ශ්‍රී ජයවර්ධන මහතා - පිටකෝට්ටේ ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - විජේරාම ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

මූල්‍යමය දයකත්වය

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ දූලානි කුමාරි මහත්මිය ඇතුළු පවුලේ සැම - ඊශ්‍රායලය - රු. 25,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රූ ද සිල්වා දුව - දේහාකටාර් - රු. 24,380/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,800/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙව්න්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ විමර්ශා සල්පගේ මෙනවිය - කිරිබත්ගොඩ - රු. 17,600/- ■ සමන්ත දියෝගබඩු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබඩු පුතා, ඩිලාරා දියෝගබඩු දුව - ඩුබායි, කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමාරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 10,500/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,800/- ■ සංජීව පද්මනාත් මහතා

ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල - රු. 6,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 5,000/- ■ සමන්තා වික්‍රමසූරිය මහත්මිය - දිවුලපිටිය - රු. 5,000/- ■ රෙසඳු දීරංග පරණවිතාන පුතා - ඕස්ට්‍රේලියාව, පරලෝ සැපත් ඒ. ඒ. පේමරත්න මහතා - කත්තොට - රු. 5,000/- ■ චාමර මධුසංක මහතා, නදීරා ගලගෙදර මහත්මිය, යෙසඳි බිමංසා දුව - පිළියන්දල - රු. 5,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 5,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 4,400/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,400/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,550/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,550/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,550/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනි මහත්මිය - කඩවත - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ ලලිතා සමරනායක මහත්මිය - මාරවිල - රු. 3,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,540/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ එස්. ඩී. සමීර සුමිත් කුමාර මහතා සහ දිලීනා සඳරුවනි මහත්මිය - කඹුරුපිටිය - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ පියසීලි සේනානායක මහත්මිය - හොරණ - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා සහ ප්‍රේමා ගුණතිලක මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ කුසුමා මැණිකේ වීරකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ■ ඊ. ඒ. එරන්දතී සඳසීලි මහත්මිය - කත්තොට - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ එස්. එම්. ප්‍රේමරත්න මහතා සහ පී. ඒ. ඥානවතී මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ ඒ. කේ. ටී. ගුණපාල මහතා - කිදල්ගල - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ මාලනී සිරිමාන්න මහත්මිය - රදවාන - රු. 1,000/- ■ ඩබ්. එම්. විජේසූරිය මහතා - හසලක - රු. 1,000/- ■ සංඛ කුමාරසිංහ මහතා සහ ක්‍රිෂානි සමරවීර මහත්මිය - ඇතුල්කෝට්ටේ - රු. 1,000/- ■ මධුභානි කළුවැව මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ පී. ඒ. ජී. සුමිත්‍රා පතිරාජ මහත්මිය ඇතුළු පිරිස - වහරක - රු. 1,000/- ■ ජී. ඒ. සඳනු නිසලිත පුතා - ගාල්ල - රු. 1,000/- ■ ජී. ඒ. කවිනි තිලෝක්‍යා දුව - ගාල්ල - රු. 1,000/- ■ මදරා ගුණවර්ධන මහත්මිය - මහරගම - රු. 1,000/- ■ තරිඳු ලකල් මහතා - වැලිවේරිය - රු. 1,000/- ■ අකිල ඩිල්ශාන් පුතා - රදවාන - රු. 1,000/- ■ එල්. ඒ. වී. චන්ද්‍රසීලි මහත්මිය ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - වැල්ලම්පිටිය - රු. 1,000/- ■ ඉසුරි චම්පිකා මහත්මිය - බොරලැස්ගමුව - රු. 1,000/- ■ නිරෝධා ධනංජනී මහත්මිය - දියතලාව - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - උළුවිටිකේ, ගාල්ල - රු. 1,000/- ■ ආර්. ඒ. ඉන්ද්‍රෙස්න මහතා - වටරැක - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ, ජී. ඒ. නිමල් මහතා - රන්පොකුණගම - නිට්ටඹුව, පී. ඩී. සිරිසේන මහතා - මීගොඩ, චන්ද්‍රා ජයවර්ධන මහත්මිය - රුවන්වැල්ල - එකතුව - රු. 5,700/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 415,570/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 14,065/- ■ සම්පූර්ණ වියදම - රු. 409,315/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.28/- සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ. ■ ඉතිරි ආධාර මුදල් සහ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා, 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්‍ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්ද්‍රාරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් , අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඩියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජ්ඣගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***





# චිත්ත සිටුතුමා...

මච්ජිකා සණ්ඩ නම් දඹදිවැ එකල
එක්තරා විසල් නුවරක් විය පතළ
පත්වෙලා සැවොම යස ඉසුරෙහි සකල
පින් පුරා වසති එනුවරු දන විපුල

චිත්ත සිටුහු යනු එනුවරැ බල වතෙකි
වත්ත පිටිය හිමි මහ ධන සිටු තුමෙකි
ඇත්තටම සැමගෙ හද දිනු ගුණ වතෙකි
පුත්ත සෙනෙහසැති සැමටම පිය තුමෙකි

පස්වග වහන්දෑ අතුරෙන් සිව් වැනි වූ
දම්දර මහනාම තෙරණුන් පින් බර වූ
යයි මග පිඬු පිණිස ගමනින් සංවර වූ
චිත්ත එසිටු එම දසුනෙන් සිත් පින වූ

කැඳවා වහන්දෑ සිටු මාලිගා වට
සොඳවා දන් පුදා සතියක් පුරා වට
සදවා දැකුම්කළු වෙහෙරක් මනා කොට
පිදුවා බුදු ප්‍රමුඛ මහ සංඝයා හට

සදහම් අසා සිටු සෝතාපන්න වුනා
සෙදගැමි ඵල ලබා පසු අනගැමිද වුනා
පුද සත්කාර ගරු සැළකිලි දෙගුණ වුනා
එදවසැ එම පුවත දස දෙස පතළ වුනා

දවසක සිටුහු එයි දෙව්රම් වෙහෙර කරා
අසලක ඉඩක් නැත සෙනගය දෙපස අරා
එය දැක අනඳ හිමි එකරුණ සිතෙහි දරා
බැහැ දැක මුනිඳු පිළිවිසි සිතැ සතුට පුරා

චිත්ත සිටුහු මෙහි ගරු සැළකිලි ලබති
ඇත්ත එයද ඔහු යන එන තැන පැවති
සත්ත කින්ම දනු පර හට වැඩ කැමති
මෙත්ත සිතැති දන කොතැනක වුව පිදෙති

සැදැහැ සිල් ගුණ ඇති
භෝග සම්පත් අඩු නැති
සතට ඇති යහ ගති
ලොවේ කොතැනක වුවද සළකති

(ධම්ම පදය - පකිණ්ණක වග්ගය ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# මේ බණ වැරදි නම් කෝ හරි නිවන් මග?

රිසි ලෙස නැති ලොවේ ගත හිත වෙහෙස වෙනා
කිසි විට වසඟයේ නැත මතු දුකම දෙනා
ඇසි පිය ගහන මොහොතෙද මරණයට යනා
නිසි නැත අසාරයි අසුභයි සියලු තැනා

අනිසියි තිලොව නැත කිසි රිසි ලෙස දරන
තනිවට නොමැත කිසිවෙකු එන විට මරණ
අනිකෙකු නොව තමන්මයි කළ යුතු තරණ
හනිකට අතැර මිදුමයි තම පිළි සරණ

පිළි සමුපා දහම සයුරක් ලෙස ගැඹුරුයි
එළි කර නොගතහොත් බොහො කලකට අඳුරුයි
මැලි නැති නැණැති සත තුම් දහමට නැඹුරුයි
කෙළියට නොගව් තුන් භව කතරම අඳුරුයි

තුම් මග දෙසන්නට සීමා නැත බසට
සංබාසන සුතුරෙ ඒ බව ඇත යසට
නංවා ගෙන වසොත් අති මානය හිසට
මං නැත නිවෙන්නට යයි දුගතිය දෙසට

මා කියනා දෙයයි හරි කිසිවෙකුත් ළඟ
නෑ බණ දහම් උන් වැරදියි මතින් ලැග
කෑ මොර දිදී හිටියත් සමහරුන් දඟ
මේ බණ වැරදි නම් කෝ හරි නිවන් මග

තම නැණ පමණකින් දත යුතු දහම බුදු
නොම පිළිගෙන දිටුව තද කර භවය වැදු
එම අය කියන බණ අහගෙන නිවන සැදු
මෙම ලොව කිසිවෙකුත් වෙද භව අඳුර බිඳු

දන්නා අයට අවසර නැත දෙසන්නට
පන්නා දමයි තමනගෙ තැන රකින්නට
ඉන්නා පිරිස හැමදා රජ කරන්නට
එන්නා මැරවරුන් ලෙස බොදු වෙසින් සිට

තමනට ලැබුන ලබ කිත් පැසසුම් ගොන්න
අඩු විට නැවත පෙර ලෙසටම රැක ගන්න
සසුනට මුවා වී බොදුනුවො රවටන්න
දහමට වැට බඳියි සමහරු එලෙසින්න

නිවන් දකින්නයි කහ වත පෙරවන්නේ
දහම් දෙසන්නට ඇයි ගහ බැන ගන්නේ
එවන් බණ අසා කෙළෙසද සැනසෙන්නේ
බියෙන් සැකෙන් කවුරුද නිවනට යන්නේ

සිවුරු දරා ගිහි කටයුතු කෙරිය හැකී
නිවුනු දහම සත හට පැවසිය නොහැකී
තැවුනු සිතින් දේපළ වස්තුවද රකී
මැවුනු අරුමයකි සසුනෙහි බලනු සකී

පිටින් කෙනෙකු නොව බුදු දම වනසන්නේ
සසුන් වෙසින් සිටමයි හරහට ඉන්නේ
බුදුන් දෙසූ එවදන බොරු නොම වන්නේ
නිවන් මගටමයි උන් එරෙහිව එන්නේ

මහ පිරිනිවන් සුතුරේ දෙසූ අවවාද
වහගෙන නොසිට පිළිපැද නොම කර බේද
දහමට අනුව කල ගෙව්වොත් ඇති බාද
පහ වෙයි, දහම බබලයි එහි නැත වාද

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1891 RS.25.00
HELA BODHU PIYUMA 91

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.